නොලැබී යන කිසිදු වාසියක් නොමැති අතර ඇත්ත වශයෙන්ම එනිසා වඩාත් ලාභ ප්‍රයෝජන අත්වී ඇත.

උඩුපට්ටියක යටි පැත්තේ ත්‍රිකෝණාකාර ලී දාරයක් හෙවත් තුඩ දාරයක් සවිකර ඇත. එය වද නියාමකය වශයෙන් හඳුන්වනු ලැබේ (4.4 රූපය). වද නියාමකයෙන් ලැබෙන වාසිය නම්, එය නිසා වදය සෘජුව බැඳීමට බිඟුන් පෙළඹීමයි (4.7 රූපය).

## 4.5.4. සල බිත්තිය හෝ බෙදුම් ලෑල්ල

මෙය ඉහළ කැදැල්ලේ පරිමාව හෝ ප්‍රමාණය පාලනය කිරීමට භාවිතා කරන අතර විශේෂයෙන්ම කුඩා ගණාවාස නඩත්තු කිරීමේදී ඉතා ප්‍රයෝජනවත් වේ. සල බිත්තිය එහා මෙහා කළ හැකි බිත්තියක් මෙන් ක්‍රියාකරමින් වර්ධනය වෙමින් තිබෙන ඉහළ කැදැල්ලට අවශ්‍ය ප්‍රශස්ත ඉඩකඩ සපයා දේ.

සල බිත්තිය, ඉහළ කැදැල්ලේ ප්‍රමාණය පාලනය කිරීම සඳහා භාවිතා කරන අයුරු 5 වන පරිච්ඡේදයේ සවිස්තරව දක්වා ඇත.

## 4.5.5. පැණි පෙට්ටි

පැණි පෙට්ටිය, ඉහළ පෙට්ටියෙන් හරි අඩක් පමණ වන අතර එහි අභ්‍යන්තර මාන මිමී230 × මිමී230 × මිමී76 (230mm × 230mm × 76mm) වේ. ඉහළ පෙට්ටියේ මෙන් මෙහිද ප්‍රතිවිරුද්ධ මුහුණත් දෙකක ඉහළින් මිමී 9 ක් ගැඹුර සහ මිමී 5ක් පළල පලන්කුවක් රාමු රැඳවීම සඳහා පිළියෙල කර ඇත. පැණි පෙට්ටියක, සාමාන්‍ය ඝනකම (මිමී20) ඇතිවද රාම 8කට ඉඩකඩ තිබුනද, පැණිවද වල ඝනකම සමාන්‍ය වද (ඉහළ වද) වල ඝනකමට වඩා වැඩි නිසා පැණි පෙට්ටිය සඳහා රාමු හතක් පමණක් භාවිතය වඩාත් සුදුසුය. පැණිවද රාම 7 තැබීමෙන් බිඟුන් පැණි වද වල කුටීර වඩාත් ගැඹුරට සෑදීම නිසා වදයේ ඝනකම වැඩිවේ. මේ නිසා එක් වදයකින් ලැබෙන පැණි ප්‍රමාණය වැඩිවේ. මෙය පැණි නිස්සාරනයේ දී වඩා පහසුවකි. මේ නිසා පැණි පෙට්ටියට සැලසුම් කර ඇති රාමු වල දෙපැත්තේ ලීස්තර දෙකේ පළල මිමී32 (32mm) වේ. එවිට පැණි පෙට්ටියේ තැබිය හැක්කේ රාම 7 ක් පමණි. මෙම පැණි රාමුවක අභ්‍යන්තර මාන මිමී200 × මිමී60 (200mm × 60mm) වේ. මීට ඉහත පැණි රාමු වල දෙපැත්තේ ලීස්තර දෙකේ පළල මිමී28 (28mm) වූ අතර අභ්‍යන්තර මාන මිමී210 × මිමී60 (210mm × 60mm) ක් විය. නමුත් සම්පූර්ණම වැඩන විට මිමී210 දක්වා දික්වන ඉහළ වදයක් කපා, පැණි රාමුවලට සපයන විට එයින් පැණි රාමුවේ වදය සඳහාවූ අවකාශය සම්පූර්ණයෙන් පිරවීම සඳහා වැඩි දියුණු කළ පැණි රාමුවේ අභ්‍යන්තර දිග මිමී200 දක්වා අඩු කරන ලදි. එමෙන්ම වැඩි දියුණු කළ පැණි රාමුවේ දෙපැත්තේ ලීස්තර වල පළල මිමී 32 දක්වා වැඩි කිරීමෙන් වඩාත් ඝනකම වදයක පැණි ගබඩා කරවා ගත හැකිය. සමහර විටක, පැණි පෙට්ටිය ඉහළ පෙට්ටියෙන් අඩක් වනසේ සැලසුම් කිරීමට හේතුවත්, පැණි පෙට්ටියේ ඉහළ පෙට්ටියේ මෙන් උඩු පටි භාවිතා නොකර රාමු භාවිතයට හේතුවක් කෙනෙකුට ප්‍රශ්නයක් විය හැක. මෙම ප්‍රශ්නයට පිළිතුරු සොයා බලමු.

ප්‍රමාණයෙන් වඩා විශාල වූ පැණි පෙට්ටි භාවිතා කළ විට එහි ඇති වද ද විශාල වේ. මීට අනුරූපව ප්‍රමාණයෙන් වඩා විශාල වූ කේන්ද්‍රපසාරී පැණි නිස්සාරකයක් භාවිතා කිරීමට සිදුවේ. විශාල කේන්ද්‍රපසාරී පැණි නිස්සාරකයක මිල වැඩි වන අතර එයින් ලැබෙන විශේෂ වාසියක් නොමැත.

ප්‍රමාණයෙන් කුඩාවූ පැණි පෙට්ටි හා ඊට සරිලන කුඩා පැණි රාමු භාවිතාකළ විට පැණි වාරය තුළදී කෙටි කාලාන්තරයක් තුළ පැණි වද පිරීයයි, එමෙන්ම කෙටි කාලාන්තරයක් තුළදී කීප විටක්ම පැණි නිස්සාරනය කළ හැකිය.

යම් විදියකින් රාමුවල බැඳි ඉහළ වද ඉදුරාම ඉහළ පෙට්ටියක ප්‍රමාණයටම තැනූ පැණි පෙට්ටි වලට දුනහොත්, බිඟුන් විසින් එම ඉහළ වද වල කොත් රාමුවේ සියලුම ලීස්තර වලට සම්බන්ධ කිරීමට පෙළඹෙන ඇත. මෙයින් පැණි වදයක තිබිය යුතු ශක්තිමත් භාවය වඩාත් තහවුරු වේ. එමෙන්ම පැණි නිස්සාරණයේදී වදය රාමුවෙන්

ගැලවී යෑම වැළැක්වීමට නම් රාමුවේ පැති හතරටම වදය හොඳින් සම්බන්ධ වී තිබිය යුතුය. කෙසේ වෙතත් පැණි පෙට්ටියට සැපයූ මේරූ ඉහළ වදයේ නිදහස් කොටස් අනුරූප ලීස්තර වලට සම්බන්ධ කිරීමේදී බිඳුන් එය පැණි නිස්සාරණයේදී එන කේන්ද්‍රාපසාරී බලපෑමට ඔරොත්තු දීමට තරම් අවශ්‍ය ශක්තියක් ඇති සේ තනන්නේ නැත. මෙවැනි අවස්ථාවලදී වැඩි ශක්තිය සඳහා වද අත්තිවාරම තුළට සිහින් ලෝහ කම්බි ගිල්වා ඇති "කම්බි තිබිත වද අත්තිවාරම්" භාවිතා කළයුතුව ඇත. නමුත් සාමාන්‍ය වද අත්තිවාරම් පවා සපයාගැනීම අපහසු අප රටේ මෙය වඩාත් අපහසු කාර්යයක් වනු ඇත.

මේ කරුණ අනුව වර්තමාන තත්වය යටතේ වඩාත් සුදුසු වන්නේ ඉහළ පෙට්ටියෙන් ලැබෙන මේරූවද මදක් කුඩාවූ පැණිවද රාමු සඳහා ඉදරාම භාවිතයයි. මේ හේතුන් සලකා හයිවයේ අදාල අංගයන්ද ඊට ගැලපෙන අයුරු සැලසුම් කර ඇත.

සමහර විටක එක් ගණාවාසයක් සඳහා එක් පැණි පෙට්ටියක් හෝ පැණි පෙට්ටි දෙකක් ප්‍රමාණවත්යැයි මතයක් ඇත. අවශ්‍ය පැණි පෙට්ටි ගණන තීරණය කිරීම බිඟු පාලන තත්වය මත තීරණය වන්නකි. නමුත් අර්ථවත් පැණි නිෂ්පාදනයක් සඳහා අඩු වශයෙන් පැණිපෙට්ටි දෙකක් වත් එක් ගණාවාසයකට තිබිය යුතුය. ගණාවාසයක් ප්‍රශස්ත පාරිසරික තත්වයන් යටතේ හොඳින් පාලනය කළේ නම් ඉහළ පෙට්ටිය මෙන් තුන් හෝ හතර ගුණයක් විශාල පැණි පෙට්ටි ප්‍රමාණයක් හයිවයේ තබාගත හැක (එනම් පැණි පෙට්ටි 6 ක් හෝ 8 ක්). මෙවැනි විශාල ගණාවාසකින් පැණිවාරය තුළදී හොඳ අස්වැන්නක් ලබාගත හැකි අතර, බොහෝ විට මෙය කිලෝග්‍රෑම් 10 (10kg) ට වඩා වැඩි විය හැකිය. එමෙන්ම සියලුම පැණි රාමු වදවලින් පරිපූර්ණ කර තැබීම ඉතාමත් වැදගත් වේ. 4.8 වන රූපයෙන් සියලූ පැණි රාමු වද වලින් පරිපූර්ණ වූ පැණිවද රාමු 7 ක් සහිත පැණි පෙට්ටි හා ඉහළ පෙට්ටියේ උඩ පටිවද 8 කින් සමන්විත, සියල්ල බිඟුන් විසින් වසා ගෙන ඇති ගණාවාසයක් පෙන්නුම් කරයි.

### 4.5.6. උඩු ලෑල්ල හෝ මුදුන් ලෑල්ල

උඩ ලෑල්ල යනු හයිවගත කැදැල්ලක ඉහළ සීමාව මත තැබීම සඳහා භාවිතා කරන වාතාශ්‍ර සිදුරු කිහිපයක් ඇති පැතලි හයිව උපාංගයකි. (4.3 රූපය). සල උපාංගයක් වන මෙය ඉහළ පෙට්ටියේ මුදුනේ සිට ඉහලින්ම ඇති අන්තිම පැණි පෙට්ටියේ මුදුන දක්වා ඕනෑම ස්ථානයක කැදැල්ලේ ප්‍රමාණය අනුව තැබිය හැක. පසුව පැහැදිලි කරනු ලබන ගහන පාලනයේදී, උඩ ලෑල්ල, සල බිත්තිය සමගින් කැදැල්ලේ ප්‍රමාණය පාලනය කිරීම සඳහා භාවිතා කළ හැක. උඩ ලෑල්ල භාවිතයෙන් කැදැල්ලේ ප්‍රමාණය පාලනය කිරීම 5 වන පරිච්ඡේදයේ සවිස්තරව දක්වා ඇත.

### 4.5.7. වහල

උඩ ලෑල්ලෙන්, බිඟු කැදැල්ල සංවෘත කරනා නමුත් එයට හිරු එළියෙන් හා වැස්සෙන් තව දුරටත් ආරක්ෂාව අවශ්‍යය. එනිසා වහලයක් අත්‍යවශ්‍ය වේ. හයිවයේ වහලය ලී වලින් සාදාගත හැකි අතර එය අව්වැසි ආදියෙන් ආරක්ෂා කර ගැනීම සඳහා තාර කොලයකින් ආස්තරනය කළහැක. මෙවැනි වහලක් සෑහෙන කාලයක් පාවිච්චි කළ හැක. එමෙන්ම මේ සඳහා සාමාන්‍යයෙන් නිවෙස් සෙවිලිකිරීමට ගන්නා පිලිස්සූ මැටි උළු ද භාවිතා කළ හැක. මෙවිට හයිව වහල සඳහා වන වියදම බෝහෝ දුරට අඩුකර ගත හැක. යමෙක් හයිව වහල සඳහා උළු භාවිතා කරනවා නම්, උළු තැබිය යුත්තේ එක් පැත්තකට ආනත වනසේය. මෙම ආනතිය ප්‍රමාණවත් නොවුවහොත් තද වැසි ඇතිවෙන විටදී, උළු කැට දෙකක් එකට තැබීමේදී අතිපිහිතවන පීල්ල උතුරා යෑමෙන් ඇතුළට ජලය කාන්දු වී උඩ ලෑල්ල දිරා විනාශ වීමට ඉඩ ඇත. මේ සඳහා සුදුසු ලී රාමුවක්, උළු රැඳවීම සඳහා භාවිතා කළ හැකිය. 4.9 රූපයේ පෙන්වා ඇති අයුරු උළු රාමුව සාදා ඇත්තේද, ඒ මත තබන උළු කැට සුදුසු ආනතයකට පිහිටන අයුරිනි.

උළු වඩාත් ලාභ අතර බොහෝ කලක් පාවිච්චි කළ හැකි වුවත්, ඒවා තාරකොල ඇලවූ දැව වහලයකට වඩා බරින් වැඩිවන අතර බිඳෙන සුළුය.




4.8 රූපය: කැදැල්ල සම්පූර්ණයෙන්ම බිහුන්ගෙන් පිරී ඇති අතර, ඉහළ පෙට්ටියේ වළ 8 කින් යුත් උඩුපටි 8 ක් ද, පැණි පෙට්ටියක වළ සහිත පැණි රාමු 7 ක් ද ඇති හයිවයක්.



4.9 රූපය: හයිවයන් සඳහා භාවිතා කරන වහල දෙ ආකාරයක්.



4.10 රූපය: ශ්‍රී ලංකාවේ බිඟු පාලනය සඳහා භාවිතා කළ හැකි හයිවයන්හි විවිධ කොටස්, අනෙක් උපකරණ හා උපකාරක මෙවලම්. වම (ඉහළ): ආහාර බඳුන්, දුමකය, රැජින කූඩුව, කුඩා පිහිය හා තුවායක්. වම (පහළ) : මැටි උළු කැට දෙකක් හා උළු තැබීම සඳහා භාවිතා කරන වහල රාමුව. මැද: උඩු ලෑල්ල හා ඉදිරියෙන් පැණි රාමුවක් සමග ඇති පැණි පෙට්ටි 6 ක්. දකුණ (ඉහළ): සුවහනීය කේන්ද්‍රාපසාරී පැණි නිස්සාරකය. දකුණ (පහළ): උඩු පටියක්, උඩු පටි 8 ක් සහිත ඉහළ පෙට්ටිය, අඩියේ ලෑල්ල, සල බිත්තිය හා රැජින කපොල්ල (කපොල තහඩුව).

### 4.5.8. රැජින කපොල්ල හෝ කපොලු තහඩුව

මෙය දොරටුව අවහිර කරමින් තබනා නියමිත ප්‍රමාණයකින් යුත් සිදුරු සහිත තුනී ලෝහ තහඩුවකි. මෙම සිදුරු තුළින් පිටතට හා ඇතුළතට ගිය හැක්කේ සේවක බිඟුනට පමණි. සිදුරේ ප්‍රමාණය සැලසුම් කර ඇති අන්දමට, උරසේ ප්‍රමාණය සේවිකා බිඟුනට වඩා විශාලවූ පුබරුන්ට හා රැජිනියට එය තුළින් යා නොහැක. සිදුරේ නියත උස නිර්ණය කරන ලබන්නේ සේවිකා ඉහඳ කුටීරයක විෂ්කම්භය මැනීමෙනි. එනම් මෙම සිදුරක නිශ්චිත උස මිමී 4.1 ~ මිමී 4.2 (4.1mm ~ 4.2mm) අතර පැවතිය යුතුය. රැජින කපොල්ලේ ක්‍රියාකාරී මූලධර්මය, 4.9 කොටසේ සඳහන් (4.1 වගුව) රැජින බැහැරකයේ ක්‍රියාකාරිත්වයට සමානය. රැජින බැහැරකය, පැණි නිෂ්පාදනය වඩාත් දියුණු කර්මාන්තයක් ලෙස කෙරෙනා රටවල රැජින ඉහඳ පෙට්ටියට පමණක් සීමාකර තබා, පැණි පෙට්ටිවලට අවුත් බිජ්ජලෑම වළක්වා ගැනීමට භාවිතා කරන සරල උපකරණයකි. මෙහිදී සිදුවන්නේද ඉහඳ පෙට්ටිය හා පැණිපෙට්ටි අතර සේවක බිඟුනට පමණක් ගමන් කිරීමට හැකිවනසේ නියමිත ආකාරයට තැනූ සිදුරු සහිත ලෝහ තහඩුවක් එම හයිව කොටස් දෙක අතරේ තැබීමයි.

රැජින කපොල්ල භාවිතයෙන් හයිවයක සිටිනා රැජිනිය එය තුළින් බැහැරට යාම වළක්වන හෙයින් මෙය ගණාවාස හයිවයන් හැරයෑමේ ප්‍රශ්නයට විසඳුමක් යැයි බොහෝ විට පිළිගනු ලැබේ. රැජින, ඉගිලී යන බිඟු රංචුව සමගින් නොයෑම නිසා, බිඟුන් ආපසු හයිවල තුළ අඩස්සි වී සිටින රැජින වෙත පැමිණේ. රැජින කපොල්ල මේ නිසා බිඟු රංචු ඇල්ලීමේදී ද ප්‍රයෝජනවත් වේ. බොහෝ විටක හයිවයක් තුළට ගන්නා බිඟුරංචුවක් මද වේලාවකින් ඉගිලී යෑමට තැත් කරන අතර එම අවස්ථාවේදී රැජිනිය ඔවුන් සමග නොයෑම නිසා නැවත ඔවුන් එම හයිවය වෙතට පැමිනේ. මෙයට සමාන ක්‍රියාවලියක් ගණාවාස හයිවයන් හැර යනවිට හැරයාමේ ආවේගය නැති කිරීමට භාවිතා කරනු ලැබේ (7 වන පරිච්ඡේදය බලන්න).

### 4.5.9. අනෙක් බිඟුපාලන උපකරණ හා මෙවලම්

වැදගත් බිඟුපාලන උපකරණ දෙකක් වන දුමකය හා පැණි නිස්සාරකය පිළිබඳ වැඩි විස්තර 8 හා 9 පරිච්ඡේද වල සඳහන් කර ඇත. එමෙන්ම කුඩා පිහියක්, රැජින කූඩු, රෙදිකඩක්, ආහාර බඳුන් ආදී දේ ද සාර්ථක බිඟුපාලනයක් සඳහා අත්‍යවශ්‍ය වේ. 4.10 රූපයේ බිඟුපාලනයේද භාවිතාවන සියලු ආම්පන්න පෙන්වා ඇත.

බිඟු ගණාවාසයක් සහිත හයිවයක් වේයන් ආදී සතුන්ගෙන් ආරක්ෂා කර ගැනීමටත්, පොළවේ ඇති තෙත ගතිය නිසා දිරා යෑම වැළැක්වීමටත් සාමාන්‍යයෙන් පොළොවෙන් මදක් උස්වූ ආධාරකයක් හෙවත් හයිව දරණයක් හෝ මත තබනු ලැබේ. එමෙන්ම ක්‍රියාකාරී ගණාවාසයක් ඇති හයිවයක විවිධ කොටස් නිසියේ එකලස්ව තබා ගැනීමට හා ඒවා ලිස්සා නොවැටීම පිණිස ආධාරකය මත තැබූ සියලු කොටස් කොහු ලනුවක් භාවිතයෙන් එකට බැඳ ගැට ගසා තිබිය යුතුව ඇත. අවසානයේ වහලය ඒ මතින් තබනු ලැබේ. හයිව දරණට සහ පතුලේ ලෑල්ල ඒකාබද්ධ වනසේ සිමෙන්ති බදාමයෙන් තැනූ හයිව දරණුවක් වේයන්ගෙන් හා දිරීමෙන් වන හානියට ඔරොත්තු දෙන අතර එවැන්නක් පසු කවරයේ පිටත රූපයෙන් දක්වා ඇත.

## 4.6. සලවද හයිව නිෂ්පාදනය සඳහා සුදුසු දැව

මේ සඳහා නොයෙක් දැව භාවිතා කළ හැකි අතර මොනයම් දැව වර්ගයක් වඩාත් සුදුසු දැයි නිර්දේශ කිරීම අපහසු කාර්යයකි. එමෙන්ම දිනෙන් දින දැව මිල ඉහළ යමින් පවත්නා බැවින් උසස් තත්වයකින් යුත් ලී වර්ග මේ සඳහා භාවිතා කිරීම එතරම් යෝග්‍ය නොවේ. බෝරැක්ස් ද්‍රාවනයක ගිල්වා පදම්කළ රබර් ලෑලි හයිව නිෂ්පාදනය සඳහා අත්හදා බලා ඇති අතර, ඒවා සාර්ථකව භාවිතා කළ හැකි බව පෙනීගොස් ඇත. බෝරෝනිකෘත රබර් ලී හයිවයේ බඳ හෙවත් බිත්ති සඳහා සුදුසු වුවත් රාමු හා උඩපටි සඳහා එතරම් සුදුසු නොවේ. එනම් රාමු හා උඩ පටි වඩා තුනී ලී පටි වලින් සෑදිය යුතු අතර තුනී බෝරෝනිකෘත රබර් ලී ඇඹරීමට හා වක් ගැසීමට තුඩු දේ. එමෙන්ම **ලුනුමිදෙල්ල** (මෙලියා ඩුබියා: මෙලියාසේ Melia dubia: Meliaceae) හා **ගිනිසපු** (මයිකේලියා චම්පකා: මැග්නොලියාසේ Michelia champaca : Magnoliacae) ආදී දැව වර්ග ද හයිව බඳ සෑදීම සඳහා සුදුසු වේ. මිමී3 (3mm), මිමී5 (5mm) වැනි වඩාත් කුඩාවූ (තුනීවූ) ගනකමකට ඉරා,

රාම සැකසීමේදී ඒවාට ඇණ ගැසූවිට නොපැලෙන හා මෙම තුනී ලිස්තර නොහැකිලී විකෘති නොවනා ඕනෑම දැව විශේෂයක් උඩපටි හා පැණිරාමු සෑදීම සඳහා භාවිතා කළ හැක. මෙවැනි සියලු කාර්යයන් සඳහා **පයිනස්** (පයිනස් විශේෂ, Pinus ) හා **සයිප්‍රස්** හෙවත් **සිඩාර** (සිඩ්රූස් විශේෂ, Cedrus) වැනි පිපිරීමට ඔරොත්තු දෙන දැව භාවිතය වඩාත් යෝග්‍යවේ.

හයිව තැනීම සඳහා දැව තෝරීමේදී සැලකිය යුතු වඩාත් වැදගත් කරුණ නම් එම දැව එළිමහන් පරිසරයකදී, පපුරා ඉරිතැලීම ආදී විකෘති සඳහා භාජනය නොවීමයි. එමෙන්ම කල් පැවැත්ම සඳහා උසස් වර්ගයේ ජල-රෝධක තීන්ත වර්ගයක් හයිව බදේ පිටතින්ද, පතුල්ලැල්ලේ සම්පූර්ණයෙන්මද ආලේප කිරීම වැදගත් වේ. උසස් වර්ගයේ දැව ආරක්ෂකයන් අඩියේ ලැල්ලේ ප්‍රාථමික ආලේපයක් ලෙස ගෑමෙන් එහි කල් පැවැත්ම, බිඟුන්හට හානියක් නොමැතිවම, වඩාත් දීර්ඝ කර ගත හැක.

## 4.7. හයිවය හැසිරවීම

මීට ඉහතදී සාකච්ඡා කලාක් මෙන් සලවද හයිවියක් භාවිතා කිරීමෙන් ලැබෙන ප්‍රධාන වාසිය නම්, එය තුළ ඇති බිඟු කැදැල්ලක් මනාසේ හසුරුවා ගැනීම සඳහා, විශේෂයෙන්ම වද අවශ්‍ය පරිදි එහා මෙහා කිරීමට ඇති හැකියාවයි. කෙසේ වුවත් ඉහදවද ලෙහෙසියෙන් කැඩී යාමට ඉඩ ඇති නිසා වද පරීක්ෂාවේදී, ඒවා ඔබ මොබ කිරීම හා හැසිරවීමේදී වඩාත් සුපරීක්ෂාකාරී විය යුතුය.

ස්වාභාවික වද ඒ මේ අත හැරවීමේදී ලෙහෙසියෙන් කැඩී යාමට හැකි නිසා බොහෝවිට වද බැඳීම සඳහා සපයන අත්තිවාරම් තහඩු තුළට සිහින් කම්බි ගිල්වූ වද අත්තිකාරම් (කම්බි නිහිත වද අත්තිවාරම්) භාවිතය වඩාත් දියුණු බිඟු කර්මාන්තයන් ඇති රටවල සුලභ දෙයකි. නමුත් අප රටේ, බිඟු කර්මාන්තයේ වත්මන් තත්වය යටතේ, සරල වද අත්තිවාරම් හෝ කම්බි නිහිත වද අත්තිවාරම් සඳහා මුදල් යෙදවීම අනවශ්‍ය දෙයකි.

වත්මන් තත්වය යටතේ වඩාත් වැදගත් වන්නේ ලෙහෙසියෙන් කැඩෙනසුළු ඉහදවද, කැදැල්ල හැසිරවීම සඳහා ඔබමොබ කිරීමේදී අල්ලන ආකාරයයි. 4.11 රූපයෙන් වදයක් ඇල්වීමේදී හා හැරවීමේදී අනුගමනය කළ යුතු මූලික ක්‍රියාපටිපාටිය විස්තර කර ඇත. මේ අනුව වදයක් කිසිවිටකත් තුන්වැනි අක්ෂය (3) තුළ කැරකැවිය යුතු නොවේ. නමුත් අනෙක් අක්ෂයන් දෙක තුළ (1 වැනි හා 2 වැනි අක්ෂයන්) ගැටලුවකින් තොරව කැරකැවිය හැක. බිඟු කැදැල්ලක් හැසිරවීමේදී වද ඒමේ අත හැරවීම අත්‍යවශ්‍යවේ. මෙහිදී අනුගමනය කළ යුතු ක්‍රියා පිළිවෙත් 4.12 රූපයෙන් විස්තර කර ඇත. වදයක අනෙක් පැත්ත පරීක්ෂාකිරීම සඳහා වදය හැරවීමේදී අනුගමනය කළයුතු පිළිවෙත් 4.13 රූපයෙන් දක්වා ඇති අතර ඉහත සඳහන් සියලු අවස්ථාවන්හිදී 4.11 රූපයේ විස්තර කළ මූලික අවශ්‍යතාවයන් සපුරා ඇති අතර, මෙනිසා වදයට කිසිදු හානියක් වීමට ඉඩක් නොමැත.

## 4.8. වද කැඩීයාම හා එයට පිළියම්

බිඟුපාලන ආධුනිකයෙකු අතින් නොමනාසේ වද ඇල්ලීම හා හැසිරවීම හේතුවෙන්, ආරම්භයේදී ඉහද වද කීපයක් කැඩී යෑම සාමාන්‍ය සංසිද්ධියකි. වදයක් කැඩී ගිය විට එය පිළියම් කර අපහසුතාවයකින් තොරව නැවතත් ප්‍රයෝජනයට ගත හැක. 4.14 රූපයෙන් පෙන්වා දී ඇති අයුරු බොහෝ අවස්ථාවලදී උඩු පටියක හෝ රාමුවක බැඳී වදයක් කැඩී යන්නේ එය වැරදි ආකාරයට හැරවීම නිසා, වදය උඩු පටියට හෝ රාමුවට සම්බන්ධ වී ඇති ස්ථානයෙන්ය. මෙවැනි අවස්ථාවක වද කැබැල්ල නැවතත් පෙර තිබූ ආකාරයට කෙසෙල් පට්ටා භාවිතයෙන් බැඳිය හැක. වද බැඳීම සඳහා සුදුසු කෙසෙල් පට්ටා වියළුණු, කෙසෙල් කොලයක මැද නාරටියෙන් හෝ කඳේ වියළුණු පට්ටා වලින් ලබා ගත හැක. 4.15 රූපයෙන් පෙන්වා ඇති අයුරු කැඩී ගිය වද කොටස් දෙක එකට තබා කෙසෙල් පට්ටා වලින් බැඳ නැවතත් හයිවයට ඇතුළුකළ පසු බිඟුන් විසින් කැඩී ගිය ස්ථානයෙන් හොඳින් සම්බන්ධ කර පිළිසකර කරනු ලැබේ. මෙහිදී සිහිතබා ගත යුතු වැදගත් කාරණයක් නම් වදයක් කැඩී වෙන් වන ස්ථානයේ පැණි ගබඩා ඇතිවිටදී එම වද කැබලි දෙක පිළිසකර කිරීම සඳහා බිඟුන් වෙත දුන්විට, ඔවුනට එය හොඳින් පිළියම් කර ගැනීමට නොහැකි බවයි. මෙවැනි අවස්ථාවලදී වද කැබලි දෙක කෙසෙල් පට්ටා වලින්

නැවත එක් කිරීමේදී, එක් කරන දාරයේ ඇති පැණි කොටස් ඉවත් කිරීමෙන් බිහුන් හට එය වඩාත් ශක්ති සම්පන්නව පාස්සා පිළිසකර කළ හැක. කෙසෙල් පට්ටාවල ආධාරයෙන් තාවකාලිකව එක්කළ වදය ස්ථිරව සැකසීම සඳහා, 4.16 රූපයේ ඇති අයුරු බිහුන් වෙත දිය යුතුය. බිහුන් එය දිනකින් හෝ දෙකකින් සම්පූර්ණයෙන්ම පිළිසකර කරනු ඇත. කෙසෙල් පට්ටා භාවිතයේ ඇති වැදගත්කම නම් බිහුන්හට වදය පිළිසකර කිරීමෙන් පසුව එම පට්ටා කපා ඉවත් කිරීමට ඇති හැකියාවයි. සමහර විටක කෙසෙල් පට්ටා වලින් තාවකාලිකව බැඳි වදයක් බිහු කැදැල්ල වෙත දී පැය කිහිපයක් ඇතුළතදීම හයිවයේ දොරටුවෙන් කෙසෙල්පට්ටා කැබලි ඉවතට ගෙනයන පවිත්‍ර කාරක බිහුන් බොහෝ විට දැකගත හැකිය. වද කැබලි තාවකාලිකව බැඳීම සඳහා වෙනත් බන්ධන ද්‍රව්‍ය වන හණනූල්, රබර් පටි, කපු නූල් ආදිය භාවිත කළහොත් වදය පිළිසකර කිරීමෙන් පසු බිහුන්හට ඒවා කපා ඉවත්කළ නොහැකි වනු ඇත. බිහුන් විසින් ඉවත් නොකරනු ලැබූ කෙසෙල් පට්ටා කොටස් පසු අවස්ථාවක බිහු පාලකයාහට ඉවත් කළ හැක.

ස්වාභාවික බිහු ගණාවාස අල්වා නවීන හයිව තුළ දැමීමෙදිද, ඒවායේ ඉහඳ වද උඩපටි හෝ රාමුවලට තබා බැඳීමේදිද, ඉහත ඡේදයේ සඳහන් ආකාරයට ක්‍රියා කළ හැක. මෙහිදී සිහි තබා ගත යුතු වැදගත් කරුණ නම් පැණි ගබඩා සහිත වද කොටස් රාමුවට හෝ උඩු පටියට වදය සම්බන්ධ කෙරෙනා සන්ධි ස්ථානයේ නොතැබීම හා සන්ධි දාරය ඍජුවට කපා ගැනීම වේ. මෙවිට සපයන ලද ඉහඳවද ක්‍රමවත්ව බිහුන්හට උඩපටියට හෝ රාමුවට සවිකර ගත හැක.



**4.11 රූපය:** *වදයක් කැරකැවිය හැකි අක්ෂයන් පෙන්නුම් කිරීම. වදය කැරකැවිය හැක්කේ අක්ෂයන් 2 ක් තුළ පමණි ( ✔ සලකුනෙන් ලකුණු කර ඇත). වදය 3 වැනි අක්ෂය තුළ නොකැරවිය යුතුය. (X සලකුනෙන් ලකුණු කර ඇත) එසේ කළහොත් වදය කැඩේ.*




**4.12 රූපය:** *වදයක් ඉහළින් ඇති උපස්ථරයේ සිට පහළට එල්ලේ. උඩ පටියක හෝ රාමුවක බැඳ ඇති වදයක් 2 වන අවස්ථාවට ගෙන ඒමේදී හෝ ආපසු තිබුන අවස්ථාවට ගෙන ඒමේදී, එය රූපසටහනේ වම් පැත්තේ දක්වා ඇති අයුරු කළ යුතුවේ. කිසිම විටකදී රූපසටහනේ දකුණු පැත්තේ පෙන්වා ඇති අයුරු නොහැරවිය යුතු අතර, එසේ කළහොත් වදය කැඩී යයි.*




**4.13 රූපය:** *උඩ පටියක හෝ රාමුවක බැඳි වදයක දෙපැත්තම පරීක්ෂා කිරීමට අවශ්‍ය වූ විට, මුලින්ම එය සිරස් අතට ගන්න ①, දෙවනුව වට භාගයක් (180°) කරකවන්න ②. අවශ්‍ය නම් තිරසට ගෙන ඊමෙන් ③ හෝ ② වන අවස්ථාවේ තිබූ ආකාරයටම දැන් වදයේ අනෙක් පැත්ත පරීක්ෂා කළ හැක.*

## 4.9. වෙනත් බිඟුපාලන උපකරණ හා තාක්ෂණ ක්‍රම

4.1 වගුවෙන්, බිඟු පාලනය වඩාත් සංවිධානාත්මක වූ කර්මාන්තයක් වශයෙන් දියුණු වීමට තුඩු දුන් "බිඟු පරතරය" නම් ජීව විද්‍යාත්මක සංසිද්ධියේ සොයාගැනීමට පසුව එහි විකසනය සඳහා නවීන් රුකුල් දුන් තාක්ෂණිකමය ක්‍රම හා නිපැයුම් කාලනිර්ණ පිළිවෙලින් දක්වා ඇත.

එසේ වුවද පැණි බිඟුන් පිළිබඳ විද්‍යාත්මක අධ්‍යයනය සඳහා නොනැන්න සැකසීමේ ගෞරවය ස්විස් ජාතික ෆ්‍රැන්සුවා හුබර් (Francois Huber, 1750 - 1831) නම් ස්වාභාව විද්‍යාඥයාට හිමිවිය යුතුව ඇත. පැණි බිඟුන් පිළිබඳ මූලික ජීව විද්‍යාත්මක සිද්ධාන්තයන්, තමා අන්ධයෙක් වුවද, තම අතවැසියා වූ ෆ්‍රැන්සුවා බර්නන් (Francios Burnens) නමැත්තාගේ උපකාරයෙන් කළ පර්යේෂණ මගින් ලොවට හෙළි කරන ලදී.

**4.1 වගුව:** බිහු පාලනය වඩාත් සංවිධානාත්මක වූ නිෂ්පාදන කර්මාන්තයක් බවට විකසනය වීමට තුඩුදුන් නොයෙක් සොයාගැනීම් කාලනිර්ණ පිළිවෙලින්.

| සොයා ගැනීම/නිෂ්පාදනය | වර්ෂය | සොයාගත් තැනැත්තා | රට |
|---|---|---|---|
| **බිඟු පරතරය** නම් බිහු කැදැල්ලක වූ වූ ස්වාභාවික සංසිද්ධියේ අනුකරන යෙන් නිපදවූ කාර්යය සාධක සලවිද (සලරාමු) **හයිවය***| 1851 | එල්. එල්. ලැන්ග්ස්ට්‍රොත් (L. L. Langstroth) | ඇමරිකා එ. ජ. |
| වද අත්තිවාරම් හෝ අත්තිවාරම් වද | 1857 | ජේ. මෙරිංග් (J. Mehring) | ජර්මනිය |
| කුට්ටි වද වල පැණි නිෂ්පාදනය | 1857 | ජේ. එස්. හාබිසන් (J. S. Harbison) | ඇමරිකා එ. ජ. |
| තැපැල් මගින් ජීවී රැජිනන් ප්‍රවාහණය | 1863 | සී. ජේ. රොබින්සන් (C. J. Robinson) | ඇමරිකා එ. ජ. |
| **කේන්ද්‍රාපසාරී පැණි නිස්සාරණය*** | 1865 | එෆ්. හ්රුෂ්කා (F. Hruschka) | ඔස්ට්‍රියාව |
| රැජින බැහැරකය | 1865 | ඒ. කොලින්ස් (A. Collins) | ප්‍රංශය |
| යුරෝපයේ සිට ඇමරිකාවට මහා පරිමාණයෙන් ජීවිය රැජිනන් ප්‍රවාහණය | 1870 | ඒ. ග්‍රිම් (A. Grimm) | ඇමරිකා එ. ජ. |
| වද අත්තිවාරම්වල තිබිය යුතු ෂඩාශ්‍ර කුටීරයන්ගේ පාදස්ථයේ හැඩරුව සනිටුහන් කිරීමේ උපකරණය (රෝල) | 1873 | එෆ්. වයිස් (F. Weiss) | ඇමරිකා එ. ජ. |
| **කාර්ය සාධක දූමකය*** | 1875 | එම්. ක්වින්බි හා ටී. එෆ්. බිංග්හම් (M. Quinby & T.F. Bingham) | ඇමරිකා එ. ජ. |
| බර ප්‍රමාණය අනුව බිහුන් විකිණීම | 1879 | ඒ. අයි. රූට් (A. I. Root) | ඇමරිකා එ. ජ. |
| වානිජමය වශයෙන් රැජිනන් බෝ කිරීමේ ක්‍රම හා විධි | 1883 | එච්. ඇලේ (H. Alley) | ඇමරිකා එ. ජ. |
| කෘතිම රැජින කෝෂවල රැජින කීටයා ඇති කිරීම | 1889 | ජී. එම්. ඩූලිට්ල් (G. M. Doolittle) | ඇමරිකා එ. ජ. |
| කාර්ය සාධක එක්දිසා බිහු කපොල්ල | 1889 | ඊ. සී. පෝටර් (E. C. Potter) | ඇමරිකා එ. ජ. |
| කාර්යසාධක ලෙස රංචුබෙදී යෑම පාලනය කිරීමේ ක්‍රම සහ විධි | 1892 | ජී. ඩබ්. ඩෙමාරී (G. W. Demaree) | ඇමරිකා. එ. ජ. |
| රෝග පරාගණය සඳහා හයිවයන් විවිධ කෙත්වතු කරා ගෙන යෑමේ ක්‍රම | 1895 | එම්. බී. වයිට් (M. B. Waite) | ඇමරිකා එ. ජ. |
| කම්බි තිබිත වද අත්තිවාරම් | 1920 | එච්. ඩඩන්ට් (H.Dadant) | ඇමරිකා එ. ජ. |
| කාර්ය සාධක කෘත්‍රිම සිංචන ක්‍රම | 1926 | එල්. ආර්. වොට්සන් (L. R. Watson) | ඇමරිකා එ. ජ. |

* මෙම උපකරණ ශ්‍රී ලංකාවට අදාලවන අතර වර්තමාන තත්වය යටතේ කාර්යසාධක ලෙස භාවිතා කළ හැක.

# 5. බිඟු ගහනයක වර්ධනය සහ ගණාවාසයක් පාලනය කිරීම

## 5.1. ගණාවාසයක ස්වාභාවික වැඩීම

මී බිඟු ගණාවාසයක වැඩීම සුපරීක්ෂාකාරීව නිරීක්ෂණය කළ විට පැහැදිලිව දැකිය හැකි එක් සංසිද්ධියක් ඇත. එනම් ඉහළින් ඇති උපස්ථරයේ යටි පැත්තට සම්බන්ධවී ඇති ඉටි වද වර්ධනය වන්නේ ලම්බකව පහළ දිශාවටත් සහ දෙපැත්තටත් යන බව ය. අප දේශීය පැණි බිඟු විශේෂ වන ඒපිස් සෙරානා ඉන්ඩිකා මෙසේ අවලම්බිතව වැඩෙන සමාන්තර වද කිහිපයකින් සමන්විත තම කැදැල්ල තනන්නේ ආරක්ෂිත වූ ඉඩක් තුළ ය (1.1 රූපය බලන්න).

මී බිඟුන්ගේ සහජ පුරුද්ද වූ අඳුරු ආරක්ෂිත ස්ථානවල කැදලි තැනීමේ හැකියාව නිසා අපට ඔවුන් ආවෘත භාජනයක් වන හයිව තුළ ඇති කිරීමේ පහසුකම සලසාදී ඇත. එමෙන්ම බඹර බිඟුන් හා දඬුවැල් බිඟුන් යන පැණි බිඟු විශේෂයන් දෙක ආවෘත හයිව තුළ ඇතිකළ නොහැකි බව අපට ඔවුන්ගේ එළිමහනේ හෙවත් විවෘත ස්ථානවල තනනා කැදලි දෙස බැලීමෙන් පැහැදිලි වේ (1.2 හා 1.3 රූප බලන්න). මී බිඟු කැදැල්ලක වැඩීම ශාකයක වැඩීම සමග සංසන්දනය කළ විට මුල් මගින් පසට සම්බන්ධ වී ඇති ශාකයක් උඩුකුරුව (ආලෝකය දෙසට හා ගුරුත්වාකර්ෂණයට විරුද්ධ දිශාවට) හා පාර්ශවිකව අතු ලියලමින් වර්ධනය වේ. එමෙන්ම ඉහළින් ඇති උපස්ථරයේ යටි පැත්තට සම්බන්ධ වී ඇති මී බිඟු කැදැල්ල යටිකුරුව (ගුරුත්වාකර්ෂණය දෙසට හෝ පහළට) හා දෙපසට වර්ධනය වේ. ශාකයක පාර්ශවිකව අතු හට ගන්නාක් මෙන් මී බිඟු කැදැල්ලක ද සමාන්තර වද කිහිපයක් ඇති වේ. 5.1 රූපයෙන් මී බිඟු රංචුවක් හයිවයක දමා සතියකට පසුවත්, 5.2 රූපයෙන් එම බිඟු රංචුවම හයිවය තුළ මාස තුනකට පසුව සාදා ඇති කැදැල්ලේ ප්‍රමාණයත්, වැඩීමත් ගෙන හැර දක්වයි. මේ කරුණු අනුව අපට පැහැදිලි වන සංසිද්ධියක් නම් මී බිඟු කැදැල්ලක් ගුරුත්වය දිශාවට හෙවත් යටිකුරුවත්, ශාකයක් ගුරුත්වයට විරුද්ධ දිශාවට හෙවත් උඩුකුරුවත් වැඩෙනා බවයි. එනිසා අන් සියලු කරුණු සම්පූර්ණව ඇති විට අඛණ්ඩව වර්ධනය පවත්වාගෙන යෑමට නම් වර්ධනය වන දෙසින් මොනයම් ආකාරයකින්වත් අවහිරයක් නොතිබීම වැදගත් වේ. යම් හෙයකින් වැඩෙන ශාකයක් එයට ඉහළින් වීදුරු තහඩුවකින් ආවරණය කළ හොත් ශාකයේ වැඩෙන අංකුර වීදුරු තහඩුව සමග ගැටෙන ස්ථානයේ සිට විකෘතිව වැඩීමට පටන් ගනී. එමෙන්ම මී බිඟු ගණාවාසයක වැඩීම පිළිබඳ මෙහිදී වැදගත්වන්නේ නිරතුරුවම එහි වැඩීම සිදුවන්නේ පහළින් ම පිහිටි ඉහද පෙට්ටියේ බවයි. පෙර සඳහන් ශාකය පිළිබඳ උදාහරණයේ එයට ඉහළින් පිහිටි වීදුරු තහඩුවෙන් එහි වර්ධනය අවහිරකල සේම ඉහද පෙට්ටියට පහළින් පිහිටි අඩියේ ලෑල්ල, ඉහද පෙට්ටිය තුළ සිදුවන වද පහළට වැඩීම වළක්වයි. උඩුපටි වල බැඳි වද වල වර්ධනය අඩියේ ලෑල්ලෙන් අත්හිටුවනවා සේම රාමු වල බැඳිවද වල වර්ධනය රාමුවේ යටලීස්තරයෙන් අත්හිටුවේ. මේ හේතුව නිසා උඩුපටියක බඳිනා වදයක් රාමුවක් තුළ බඳිනා වදයකට වඩා විශාල වේ (4.6 රූපය බලන්න).

ස්වාභාවයෙන්ම වද වැඩීම යටිකුරුවත් පාර්ශවිකවත් සිදුවන අතර ඉහළින් පිහිටි පරණ වද මේරීමක් සිදුවේ. මේරූ වද වල හා ළපටි අලුත් වදවල ඇති පැහැදිලි වෙනස නම්, මේරූවද තද දුඹුරු පැහැයෙන් යුත් ශක්තිමත් ඒවා වන අතර නොමේරූ වද සුදු පැහැව මෘදුව තිබීමයි. වදවල ඇති කුටීර තුළ ඇතිදැඩි කරන මී බිඟු කීටයන් ගෙන් ශ්‍රාවය වන ද්‍රව්‍ය තැන්පත් වීමනිසා එම වද කල් යෑමේදී දුර්වර්ණ වන අතර ශක්තිමත් වේ. ස්වාභාවයෙන්ම රැජිනිය අලුත් මෘදුවද වල බිජුලෑමට වැඩි කැමැත්තක් දක්වන අතර බිඟුන් මේරූ පරණ වද වල පැණි ගබඩා කිරීමට වැඩි කැමැත්තක් දක්වයි. 5.3 රූපයෙන් අලුත් හා පරණ වද වල කැපී පෙනෙන වෙනස් කම් පැහැදිලිව දක්වා ඇත. පරණ වද වල කුටීරයන්හේ තැන්පත්වන බිඟු කීට ස්‍රාවයන් නිසා එහි විෂ්කම්භය ද අළුත් වද වලට වඩා මඳක් අඩු ය. වදයක් යටිකුරුව පහළට වැඩෙනා අතර, බිඟුන් ඉහළින් පිහිටි ඉහද ඇතිදැඩි කිරීමට නොසුදුසු පරණ වද කුහරවල පැණි ගබඩා කරති.

හයිවයක ඇතිකරන බිඟුන් ඉහළින් පිහිටි පැණි පෙට්ටිවලට අවුත් ඒවායේ රාමුවල පැණිරැස් කිරීම සඳහා වද තනනවා ඇතැයි අප බොහෝවිට උපකල්පනය කරමු. බිඟුන් ඉහළින් ඇති පැණි පෙට්ටිවල අවුත් එහි ඇති රාමුවල වද තනන්නේ ඉතා දුරාචාරයෙනි. බොහෝ විට බිඟුන් පැණි රාමුවල අලුත් වද තැනූ විට සිදුවන දෙයක් නම් රැජින එහි අවුත් බිජ දැමීමයි. මෙවැනි ක්‍රියාවලියක් සිදුවන්නේ බිඟු ගහනයේ අධික තදබදයක් ඇතිවූ විට වන අතර මේ හේතුව නිසා අධික රංචු බෙදියෑමක් සිදුවේ (6.1. කොටස හා 6.3 රූපය බලන්න).

යමෙක් මී බිඟු කැදැල්ලක බිඟුන් විසින් පරිහරණය කරන ඉඩ ප්‍රමාණයද වද වලින් පිරී ඇති ඉඩ ප්‍රමාණයද ගැන බැලුවහොත් වැදගත් කරුණු කිහිපයක් දැනගත හැක. මෙහිදී අප කැදැල්ලේ යනුවෙන් සඳහන් කරන්නේ බිඟුන් විසින් පූර්ණ වශයෙන් වසාගෙන ඇති ඉඩකඩ ප්‍රමාණයවේ. එනිසා කැදැලි ස්ථානයේ බිඟුන් විසින් පරිහරනය නොකරණ හිස් අවකාශයන් සලකා බලන්නේ නැත. 5.1 හා 5.2 රූපවලින් දක්වා ඇති පරිදි මී බිඟු කැදැල්ලක පරිමාවෙන් 30% පමණ බිඟුන් ගෙන් ද ඉතිරි 70% වද වලින් ද පිරී ඇතිබව එවිට ප්‍රත්‍යක්ෂ වනවා ඇත. එනිසා යමෙක් බිඟු කැදැල්ලක් ගැන කථාකරන විට එයින් ඒත්තු යන්නේ 2/3 කටත් වඩා ඉඩ පරිමාවක් ඉටි වද වලින් ද ඉතිරිය බිඟුන්ගෙන් ද පිරී ඇති බවය. අප ප්‍රායෝගිකව බිඟු කැදැල්ලක ප්‍රමාණය පරිමා ඒකකයක් වන ලීටර් (liters) වලින් සඳහන් කරන ලැබේ. කැදැල්ලක වද පරිමාව ගොඩනැගීම හා දිරිගැන්වීම සඳහා අත්තිවාරම් වද සැපයීම, අත්තිවාරම් වද ලබා ගත හැකි අවස්ථාවලදී කළහැකි දෙයකි. ඉවත ලන වද හා ඉටිවලින් අත්තිවාරම් වද නිෂ්පාදනයත්, සැපයුමත් හොඳින් දියුණු බිඟුපැණි නිෂ්පාදන කර්මාන්තයක් ඇති රටවල සලහ දෙයකි. නමුත් වර්තමාන තත්වයන් යටතේ අප ශ්‍රී ලංකාවේදී පරණ මෙරූ වද මේ සඳහා ඉදුරාම භාවිතය වඩාත් යෝග්‍යවේ.

## 5.2. පරණ වද භාවිතය : ශ්‍රී ලංකාවේ සාර්ථක මී බිඟු පාලනය උදෙසා වැදගත් වන උපක්‍රමයක්

**අත්තිවාරම් වද**[1] (comb foundation) සෑදීම සඳහා පරණ වද උණුකර එහි ඇති හොඳ ඉටි නිස්සාරණය කර ගත යුතු බවත් සහ පරණ වද වලට පැමිණෙන හානිදායක ඉටි සලබයින් නිසා පරණ වද තිබීම හානිදායක බවත්, බොහෝ විට සඳහන් කර ඇත. මේ හේතූන් නිසා පරණ වද දුරුලිය යුතු බව තීරණය වේ.

පරණ වද නිසා අවාසිදායක තත්වයක් ඇතිවන්නේ ඒවා ප්‍රයෝජනවත් අන්දමින් භාවිතා නොකිරීම නිසාවේ. පරණ වද වඩා ක්‍රමවත්ව **සූර්යය තාප ඉටි නිස්සාරකයක්** (solar wax extractor) මගින් ඉටි නිස්සාරනය සඳහා භාවිතා කරතත්, ගණාවාස කීපයක් ඇති බිඟු පාලකයෙකුට පවා ලැබෙන්නේ ඉටි ස්වල්පයකි. මීට අමතරව බිඟු පාලකයෙකුහට තමාට අවශ්‍ය අත්තිවාරම් වද තමා විසින්ම බොහෝ විටක සාදා ගත නොහැක. මේ තත්වයන් යටතේ පරණ වද වලින්, උණු ජලය භාවිතයෙන් නිස්සාරනය කරගන්නා ඉටි බතික් රෙදි සෑදීම වැනි මී ඉටි භාවිතා කරණ කර්මාන්ත සඳහා විකිණීම වඩා වාසිදායකවේ.

අත්තිවාරම් වද සෑදීමට හෝ සපයා ගැනීමට ශ්‍රමයත්, කාලයත් , මුදලත් වැය කරනවාට වඩා ප්‍රයෝජනවත් හා ලාභදායි වන්නේ ඉදුරාම පරණ වද භාවිතා කිරීමයි. 5.4 හා 5.5 රූප වලින් දෙආකාරයකට නිෂ්පාදනය කර ඇති අත්තිකාරම් වද තහඩු වල උපයෝගීතාවය පෙන්වා ඇත. 5.6 රූපයෙන් පෙන්වා ඇති මෙරූ පරණ වද ඉදුරාම භාවිතය වඩාත් උචිත බව පෙනී යනවා ඇත. එනිසා, ඇත්ත වශයෙන්ම ඉදුරාම පරණ වද භාවිතය පහත සඳහන් කරුණු අනුව වඩාත් යෝග්‍ය වේ.

---

1 පැණි නිෂ්පාදනය සඳහා වූ බිඟු පාලනය තාක්ෂණයේ දියුණුවත් සමගත් සලවද හයිව භාවිතයේදී අත්‍යවශ්‍ය අංගයක් ලෙස අත්තිවාරම් වද භාවිතය ව්‍යාප්තව ඇත. සලවද හයිව භාවිත වන බිඟු පාලනයේදී කාර්යසාධක ලෙස ගණාවාසයක් නැඩත්වීමට අත්තිවාරම් වද මහෝපකාරී වේ. එනමුත් අත්තිකාරම් වද සෑදීම සඳහා අත්‍යවශ්‍ය ඉටි නිස්සාරක, ඉටි තහඩු සෑදීමේ උපකරණ, ෂඩාශ්‍ර සලකුණු කැටයම් කිරීමේ උපකරණ ආදිය සඳහා සැලකිය යුතු ආයෝජනයක් අවශ්‍ය වේ. එනිසා මෙවැනි කර්මාන්තයක් පැණි නිෂ්පාදනය සඳහා වූ මී බිඟු පාලනය වඩාත් දියුණු මට්ටමකට පත්වූ විට ඒ සඳහා වූ උපකාරක සේවාවක් වශයෙන් පසුකලකදී සංවිධානය වී එලිබැසිය යුතුව ඇත.



**5.1 රූපය:** *හයිවයක සතියකට පෙර තැන්පත් කළ බිඟු රංචුවක් ගොඩ නැගූ කැදැල්ල.*



**5.2 රූපය:** *5.1 රූපයේ ඇති ගණාවාසයම මාස 3 කට පසුව*




**5.3 රූපය:** අලුත් හා පරණ වද සංසන්දනය. අලුත් වදය ඉහදන් ගෙන් පිරී ඇත. දුර්වර්ණවූත් ගන්ධිමත් වූත් බැවින් පරණ වදය පැණි ගබඩා කිරීමට වඩා යෝග්‍ය වේ.

එනම්,

① අත්තිවාරම් වද මත බඳිනා අලුත් වද වලට වඩා පරණ වද වඩා ශක්තිමත් වේ.

② අනෙක් අතින් අත්තිවාරම් වද සපයා ගැනීම ශ්‍රී ලංකාවේ දී ඉතා දුෂ්කර වේ. ඒවා සපයා ගත හැකිවූවත් ඒවායේ මිල අධික වන ඇත.

③ මෑතකදී පැවැත්වූ පර්යේෂණ අනුව මී බිහුන් පරණ වද තුළ පැණි ගබඩා කිරීමට වඩා කැමැත්තක් දක්වන බවත් බිහු කැදැල්ලේ පරණ වද තිබීම පැණි ගබඩා කිරීමට හිරි ගැන්වීමක් වන බවත් පැහැදිලි වී ඇත.

## පරණ වද භාවිතා කළ යුත්තේ කෙසේද?

පරණ වද ප්‍රයෝජනවත් සේ භාවිතා කිරීම සඳහා එම ගණාවාසයේම මේරීමට පත්වූ වද ප්‍රයෝජනයට ගත යුතුව ඇත. බිහුන් විසින් ඉහඳ ඇති කිරීම සඳහා පරිහරනය කරනු ලබන වද ක්‍රමයෙන් මෝරා පරණ වේ. එනිසා මෙම වද කාර්යක්ෂමව භාවිතා කළ යුතුව ඇත.

මේ සඳහා ඉහඳ පෙට්ටියේ වද පාලනය සැලසුම් කළ යුත්තේ, ක්‍රමයෙන් වද මෝරනවාත් සමගින් එම මේරූ වද ඉහළ පෙට්ටිය දෙපැත්තට ගෙන එන ලෙසට ය. එනම් මෙයින් අදහස් වන්නේ අලුත් වද නිෂ්පාදනය ඉහඳ පෙට්ටියේ මැද හෝ එය තුළ ඇති ඉහඳ කැදැල්ල මැද සිදු කෙරෙනා බවයි. මෙහිදී අනුගමනය කළයුතු ක්‍රියා කලාපය 5.3.3.1. සිට 5.3.3.5. යන කොටස් වල විස්තර කර ඇති අතර 5.7 සිට 5.12 දක්වා ඇති රූප වලින් පැහැදිලි කර ඇත. ඉහඳ පෙට්ටියේ දෙපසට, මේරීමත් සමගින් ක්‍රමයෙන් ගන්නා හොඳින් මේරූ වද එසේම තිබෙන්නට ඇරිය හොත් බිහුන් විසින්ම මෙම පරණ වදය සපා කැබලි කර වදය කප්පාදු කිරීමක් කරනු ලැබේ. මෙවැනි කප්පාදු කළ වද වලින් ලබාගත හැකි ප්‍රයෝජන අඩු ය. 5.13 වෙනි රූපයෙන් ඉහඳ පෙට්ටියේ අයිනේ ප්‍රයෝජනයට නොගෙන තිබෙන්නට හැරි වදයක් බිහුන් විසින් කප්පාදු කර ඇති අන්දම පැහැදිලි කරයි. සමහර විටක මෙම පරණ වද කප්පාදුව බිහුන් විසින්ම සිදු කරන්නේ අලුත් වද සෑදීම සඳහා ඉඩ ලබාගැනීමට විය හැකි ය.

පෙර සඳහන් කළාක් මෙන්, වත්මන් තත්වය යටතේ ඉහඳ පෙට්ටියේ උඩපටි භාවිතා කිරීම රාමු භාවිතා කරනවාට වඩා උචිත වේ. උඩ පටි රාමු වලට වඩා ලාභදායක වන අතර උඩ පටියක බඳිනා වදයක් රාමුවක් තුළ බඳිනා වදයට වඩා විශාල වේ. රාමු භාවිතයෙන් ඇති එකම වාසිය නම් වදයක් සහිත රාමුව යට ලීස්තරය බිමට සිටින සේ බිම තැබිය හැකි අතර, පැති ලීස්තර දෙකෙන් හා යට ලීස්තරයෙන් රාමුව තුළ ඇති වදයට යම් ආරක්ෂාවක් සැලසෙනවා විය හැක. නමුත් ප්‍රභාණ බිහු පාලකයෙකුහට මෙසේ සැලසෙන ආරක්ෂාවෙන් වැදගත් ප්‍රයෝජනයක් නොමැත.

ඉහඳ වදය පරණ වූවිට එය ඉහඳ පෙට්ටියේ එක් අයිනකට ගෙනෙන අතර, එයින් පසු කලක එය පැණි පෙට්ටිවල පැණි රාමු වද වලින් සම්පූර්ණ කිරීම සඳහා භාවිතා කරනු ලැබේ. ක්‍රමානුකූලව වද පාලනය කර පැණි රාමු වලට සැපයූ මේරූ හෝ පරණ වද මීලඟ පැණි වාරය තුළදී බිහුන්හට පැණි ගබඩා කිරීම සඳහා අවශ්‍ය ඉඩ ප්‍රමාණය සපයා දේ.

## 5.3. ගහන පාලනය

අප මෙහිදී ගහන පාලනය යනුවෙන් අදහස් කරන්නේ ඉදිරියට ඇතිවන පැණි වාරයක් තුළදී කාර්යක්ෂමව ශාකමධු එකතු කර පැණි නිෂ්පාදනය කිරීම සඳහා ප්‍රශස්ත සේවක බිහු ගහනයක් ඇතිකර ගැනීම වේ. මෙහිදී අපට ඇතිවන වැදගත් ප්‍රශ්නයක් නම්, බිහු ගණාවාසයක සිටිය යුතු බිහුන්ගේ ප්‍රමාණයයි. ශ්‍රී ලංකාවේ

පවත්නා බොහෝ පරිසර තත්වයන් යටතේ කිලෝග්‍රෑම් 1 සිට 2 දක්වා වූ පැණි ප්‍රමාණයක් නිපදවීම සඳහා බිහුන් 15,000 පමණ ගහනයක් සිටිය යුතු අතර මෙම ගහනයේ කැදැල්ල ලීටර් 12 පමණ විය යුතු ය.

මෙයට අමතරව, මීට පෙර 2.1 කොටසේ සාකච්ඡා කලාක් මෙන් පැණි නිෂ්පාදනය සඳහා අත්‍යවශ්‍ය සාධක අතුරින් 3 වැනි පූර්ව අවශ්‍යතාවය නම් ගහනයේ ප්‍රමාණයයි. එමෙන්ම මෙය බිහු පාලකයාහට පාලනය කළ හැකි එකම සාධකය ද වේ.

5.14 රූපයෙන් සති 4ක් හෝ 6 ක් පමණ පවත්නා පැණි වාරයකින් ප්‍රයෝජන ගැනීමට ගහනයේ ප්‍රමාණය බලපාන අයුරු විග්‍රහ කර ඇත. 5.14 රූපයේ 1 වන වක්‍රයෙන් පෙන්නුම් කරන්නේ සාමාන්‍යයෙන් බොහෝ බිහු පාලකයන් හටත් හා බොහෝ ගණාවාසයන්ටත් පොදුවේ සිදුවන සංසිද්ධියකි. පැණිවාරයක ආරම්භයේදී බොහෝ ගණාවාසයන්ගෙන් රංචු බෙදී යෑම ප්‍රකට කරුණකි. පැණිවාරයට පෙරාතුරු අවධියේ සිටම ඇතිවන හොඳ මධු සැපයුම නිසා ගණාවාස වැඩීමට පටන් ගනී. මේ නිසා නියම පැණිවාරය ආරම්භයේදී කැදැල්ලේ ඇති වද පරිමාවට නොදැරිය හැකි තරම් බිහු ගහනයක් ද එනිසාම විශාල තදබදයක් ද ඇතිවේ. මෙම තදබදය සමනය වන්නේ රංචු බෙදී යාමෙනි. මෙහිදී අවසාන ප්‍රතිඵලය වන්නේ ලැබෙන පැණි අස්වැන්න සුළු ප්‍රමාණයක් වන අතර බොහෝ විට ලාභ දායක නොවීමයි.

හයිවයක ඇති කැදැල්ලක ඇතිවන තදබදය පිළිබඳ දැන ගත හැක්කේ උඩ ලෑල්ලේ ඇතුළු පැත්තේ සිටිනා බිහුන් ගෙන් ය. 5.15 රූපයෙන් දක්වා ඇති අයුරු මෙම තදබදය හොඳින් දැනගත හැක්කේ උඩ ලෑල්ලේ ඇතුළු පැත්තේ දක්නට ලැබෙන බිහු පොකුරු වලිනි. මෙම බිහු පොකුරු ඇති වීමට ප්‍රධාන හේතුව නම් බිහුන්හට හොඳින් විසිරී සිටීමට අවශ්‍ය තරම් වද පරිමාවක් නොතිබීමයි. එමෙන්ම උඩ ලෑල්ල විවෘත කළවිට එය ඇතුළු පැත්තේ 5.16 වැනි රූපයෙන් පෙන්වා ඇති අයුර බිහුන් එක් ස්ථරයක් පමණක් ඇති නම් එයින් පෙනී යන්නේ බිහුන් තම කැදැල්ලේ පර්යන්තය හෙවත් මායිම් හොඳින් රකිනා බවයි. මෙවන් අවස්ථාවක දී පවත්නා වද ප්‍රමාණය බිහුගහනය සමගින් තුළිත තත්වයක පවත්නා බව පෙන්නුම් කරයි.

5.14 රූපයේ 2 වන වක්‍රයෙන් රංචු බෙදීම කාලෝචිතව පාලනය කළ මුත් වර්ධන අවධියේ දී ප්‍රශස්ත ගහන මට්ටමකට නොඑළැඹුණු ගණාවාසයක ගහන තත්වය පෙන්නුම් කරයි. මෙවැනි ගණාවාස වල ගහනය දෙවැනි පැණි පෙට්ටිය පිරෙනතෙක් පමණ හෝ ලීටර් 16 ක පමණ කැදලි පරිමාවක් පෙන්නුම් කරයි. මෙවැනි තත්වයක් ඇති වන්නේ බොහෝ විට වර්ධන අවධියේ දී ආහාර සැපයුම අවශ්‍ය මට්ටමට වඩා අඩුවෙන් පැවතුන විට ය. වර්ධන අවධිය තුළදී වර්ධන වේගය නිරීක්ෂණය කරමින් සුදුසු පරිදි අතිරේක ආහාර සැපයීමෙන් මෙවැනි තත්වයක් පහසුවෙන්ම මගහැරගත හැක.

5.14 රූපයේ 3 වන වක්‍රයෙන් රංචු බෙදීම කාලෝචිතව පාලනය කළ හා වර්ධන අවධියේදී ප්‍රශස්ත ලෙස ආහාර සැපයීමක් තිබූ ගණාවාසයක් පෙන්නුම් කරයි. අවශ්‍ය අවස්ථාවලදී අතිරේක ආහාර සැපයීමෙන් මෙවන් වර්ධනයක් ලබාගත හැකි අතර එවැනි ගණාවාසයක පැණිපෙට්ටි හතරක් හෝ සමහර විටක මීටත් වඩා විශාල ගහනයක් සමගින් පැණි වාරයට පිවිසිය හැක. බිහුපාලකයින් 5.17 රූපයේ පෙන්වා ඇති අයුරු විශාල ගණාවාස පැණි වාරය සඳහා ලබාගැනීමට වර්ධන අවධියේ දී උත්සාහ දැරිය යුතු ය.

විශාල ගහනයකින් යුත් ගණාවාස ලබාගැනීම සඳහා පහත සඳහන් කරුණු සපුරා තිබීම අත්‍යවශ්‍ය වේ.

### 5.3.1. අධික ලෙස බිජු ලෑමේ හැකියාවකින් යුත් රැජිනක් සිටීම

රැජිනියගේ තත්වය නිර්ණය කිරීම සඳහා ගණාවාස නිතර පරීක්ෂා කිරීම අත්‍යවශ්‍ය කාරණයක් ලෙස සැලකීමත් මෙ නිසාම ගණාවාස වරින් වර පරීක්ෂාකිරීමත් බොහෝ විට සිදුවේ. කුමන කාලාන්තරයක් අතර ගණාවාස පරීක්ෂා කළ යුතු ද යන්න සමහර බිහු පාලකයින් විසින් නිතර අසනු ලබන



**5.4 රූපය:** පරණ වද වලින් නිස්සාරනය කරගත් ඉටි වලින් තැනූ ඉටි තහඩු බිහුන් හට වද තැනීම සඳහා අක්‍රමවත් ලෙස සලකුණු කර හයිවයකට සැපයූ විට බිහුන් එහි අක්‍රමවත් සේ වද තැනීම ආරම්භ කර ඇති ආකාරය. 1857 දී ජර්මනියේ, ජේ. මෙරිංග් **(J. Mehring)** විසින් මුල් වද අත්තිවාරම් මෙසේ සාදන ලදී. (4.1 වගුව බලන්න.)



**5.5 රූපය:** ඉටි තහඩුවල ක්‍රමවත් සේ වද තැනීම සඳහා යන්ත්‍රානුසාරයෙන් කැටයම් කර ඇති ෂඩශ්‍ර සලකුනු මත ඒකාකාරී කුටීර තැනීමට බිහුන් යොමු වදි ඇති ආකාරය. 1873 දී ඇමරිකාවේ එෆ්. වයිස් **(F. Weiss)** විසින් ප්‍රථම යෙන්ම ෂඩාශ්‍ර කැටයම් සලකුනු කල වද අත්තිවාරම් නිපදවන ලදී. (4.1 වගුව බලන්න)



**5.6 රූපය:** පරණ හෙවත් මේරූ ඉහැවද ඉඳුරාම පැණි රාමු වෙත සැපයීම ශ්‍රී ලංකාවේ බිහු පාලනයේ වත්මන් තත්වය යටතේ වඩාත් ලාභදායිවූත්, පහසුවූත් ක්‍රමයකි.



**5.7 රූපය:** ඉහළ පෙට්ටියේ එක් කොනක තිබූ මේරූ පරණ වදයක් ඉවතට ගැනීම.




**5.8 රූපය:** උඩුපටියක බැඳි වදයක්, එම උඩුපටිය හයිව දොරටුවේ රඳවා වදයේ සිටිනා බිහුන් ඉවත් කිරීම. මෙහිදී බිහුන් ආපසු ඉහළ කැදැල්ල වෙත යනවා ඇත. මදක් දුම් භාවිතයෙන් මෙම ක්‍රියාවලිය කඩිනම් කළ හැක.



**5.9 රූපය:** මෙරු ඉහළ වදයේ ප්‍රමාණයෙන් පැණි රාම දෙකකට සෑහෙන වද ප්‍රමාණය සපයා දිය හැකිය.



**5.10 රූපය:** මෙරු ඉහළ වදය තියුණු පිහියකින් කපා ගැනීමෙන් පැණි රාම දෙකක් පිරවිය හැක.



**5.11 රූපය:** වද පැත්තකට තල්ලු කිරීමෙන් ඉහළ පෙට්ටියේ මැද හිස් ඉඩක් ඇති කරගත හැක. මෙම හිස ඉඩෙහි වදයකින් තොර (හිස) උඩ පටියක් තැබීමෙන් එහි අලුත් වදයක් ඇඳීමට සැලැස්විය හැක.



5.12 රූපය: මේරූ වද වලින් පිරවූ පැණි රාම දෙකක් පළමු පැණි පෙට්ටියේ මැදට සැපයීම. ***(වැදගත් සම්පතක් ප්‍රයෝජනයට ගැනීම)***



5.13 රූපය: බිඟු පාලකයාගේ සැලකිල්ලට යොමු නොවූ, ඉහළ පෙට්ටියේ අයිනක තිබූ ඉහළ වදයක් බිඟුන් විසින් සපාකා සප්පාදු කර ඇති අන්දම. ***(ප්‍රයෝජනයට නොගත් වැදගත් සම්පතක් අපතේ යෑම)***




**5.14 රූපය** වර්ධක අවධියේ ඇතිවූ විවිධ වර්ධක තත්වයන්ගේත් හා රංචුබෙදී යෑමේත් බලපෑම නිසා බිඟු ගහනයක ඇතිවන වෙනස්කම්. වැඩි විස්තර සඳහා 5.3 කොටස බලන්න.

ප්‍රශ්නයකි. ගණාවාස පරීක්ෂාවේ දී අනිවාර්යයෙන්ම රැජින දැක ගැනීමට උත්සාහ දැරීම ද සම්මත ක්‍රියාවක් වශයෙන් කරනු ලැබේ. රැජින දැකබලා ගැනීමෙන් ඇයගේ තත්වය නිර්ණය කිරීම මෙහිදී බොහෝ දෙනෙකු බොහෝ විට බලාපොරොත්තු වේ. රැජින දැක ගැනීම කිසිසේත් වරදක් නැති දෙයකි. නමුත් ඇය දැකීමෙන් පමණක් ඇගේ හොඳ හෝ නරක කිසිවිටකත් තීරණය කළ නොහැක.

5.18 වැනි රූපයෙන් රැජින හා බිඟුන් සහිත ඉහළ වදයක් පෙන්වා දී ඇත. ඔබට මෙහි රැජින ගත හැකිද? බිඟුන් සමගින් සිටිනා රැජින සොයාගැනීමට යම් තරමක හෝ පුරුද්දක් කෙනෙකුට තිබිය යුතු අතර, බිඟුන් ඇසුරු කරණ ඕනෑම අයෙකුට මෙම හැකියාව පහසුවෙන් ලබාගත හැක. රැජින ඉහළ පෙට්ටියේ ඇති වද අටෙන් ඕනෑම් එකක සිටිය හැක. මුලින් ම පිටතට ගත් වදයේ රැජින සිටින දැකීම එක්තරා ප්‍රමෝදයකි. එමෙන්ම සැහීමකට පත් වීමකි. නැතහොත් රැජින සෙවීම සඳහා සෑහෙන මහන්සියක් ද කාලයක් ද මිඩංගු කිරීමට සිදුවේ . මෙවන් කාලයක් හා මහන්සියක් වැය කර රැජින සොයා දැක බලා ගැනීමෙන් ලද හැකි ඵල ප්‍රයෝජනයක් නොමැත. එසේ නම් රැජින සොයා මහන්සි විය යුත්තේ ඇයි? ඉහළ පෙට්ටියේ ඇති වද එකිනෙකින් දුරස් කිරීමේදී දැකිය හැකි බිඟුන් එකිනෙකාට ඇඳී සැදෙන බිඟුවැල් ගණාවාසයේ නිරෝගී තත්වය හෙළිකරණ වඩාත් ප්‍රයෝජනවත් දර්ශනයකි. 5.19 රූපයෙන් දක්වා ඇති මෙවන් බිඟුවැල් සැදෙන්නේ බිඟුන් වද තැනීම සඳහා තම ශරීර වලින් ස්‍රාවය වන ඉටි ගල්කා පිළියෙළ කිරීමේදී ය. වද තැනීම ක්‍රියාකාරීව කරගනු යනු ලබන්නේ සාමාන්‍යයෙන් හොඳ තත්වයක ඇති ගණාවාසයන් ය.

රැජින දැක ගැනීමට වඩා වැදගත් වන්නේ ඇයගෙන් ඉටුවිය යුතු කාර්යයන් හරියාකාරව ඉටු වී ඇතිදැයි නිර්ණය කිරීමයි. ගණාවාස පරීක්ෂාවේ දී ඇය අහම්බෙන් දැක ගැනීමට හැකිවුව හොත් එයින් මදක් සන්තෝෂ විය හැක. නමුත් ඇගෙන් ඉටුවිය යුතු කාර්යයන් මොනවාද? පැණි නිෂ්පාදනය සඳහා මී බිඟුන් පාලනයේ දී බිඟු රැජිනියගේ එකම කාර්යය නම් අවශ්‍ය තරම් බිජු දැමීමයි. මෙම බිජු වලින් ඇතිවන සේවිකාවන් විසින් පැණි නිෂ්පාදනය සඳහා මධු රැස් කළ යුතුව ඇත.

5.20 හා 5.21 යන රූපවලින් අලුතින් සාදාගෙන එන වද වල තිබිය යුතු නොයෙක් වර්ධක අවධීන් පෙන්නුම් කරන අතර මේ මගින් රැජිනියගේ තත්වය නිර්ණය කළ හැක. වද වල සියලු ඉහළ අවධීන් (එනම් බිජු, කීටයන් සහ පිළවුන්) හිස් තැන් නොමැතිව සිටිනා නෙක් රැජිනියගේ තත්වය හොඳබැව් තීරණය කළ හැක. මෙවිට ඇයට හිරිහැරයකින් තොරව බිජු ලෑමට ඉඩ හරින්න. බිජු සහිත වද කුටීර වදයක විශාල කොටසක පැතිරී ඇතිනම් එය රැජිනියගේ තත්වය හොඳ බවට ඇති වටිනා සාක්ෂියකි. මෙවැනි රැජිනියකගේ බිජලෑමේ කාර්යක්ෂමතාවය දිගටම පවත්වාගෙන යෑම් සඳහා අනුගමනය කළ යුතු පාලනමය උපක්‍රම ඉදිරි කොටස් වලදී සාකච්ඡා කරනු ලැබේ.

එසේම යමෙක් රැජින දැක ගැනීම සඳහා හිතාමතාම උත්සාහ ගත යුත්තේ ඇය අල්වා ගැනීමට හා හෝ ගණාවාසයෙන් ඉවත් කිරීමට අවශ්‍ය වූ විට ය. ප්‍රායෝගික බිඟු පාලනයේ දී මෙවැනි අවස්ථා දෙකක් දැකිය හැක.

① ප්‍රධාන පැණිවාරයට ප්‍රථම රංචු බෙදීයෑම පාලනය කිරීම සඳහා ගණාවාස කට්ටි බෙදීමේදී. මෙම ක්‍රියාවලිය 6 වෙන පරිච්ඡේදයේ සවිස්තරාත්මකව දක්වා ඇත.

② යම් විදියකින් ගණාවාසයකට හැරයාමේ ආවේගය ඇතිවී එය ස්ථිරවම බිඟුන්ගේ හැසිරීමෙන් තහවුරු වූ විට එම ආවේගය නිශේධනය කිරීමට (ඉවත් කිරීමට හෝ මැඩපැවැත්වීමට) අවශ්‍ය වූ විට අනුගමනය කළ යුතු ක්‍රියාවලිය 7 වන පරිච්ඡේදයේ, සවිස්තරාත්මකව දක්වා ඇත. නමුත් ගණාවාසයක් නියම ආකාරයට පාලනය කළේ නම් මෙය අනවශ්‍යය.

## 5.3.2. ඉඩකඩ අවශ්‍යතාවය

### 5.3.2.1. වර්ධනය සඳහා වූ ඉඩකඩ අවශ්‍යතාවය

පහත සඳහන් කරුණු සඳහා අවශ්‍යය ඉඩකඩ සපයාදීම.

① බිජුලෑමේ කාර්යය නොකඩවා කරගෙන යෑම සඳහා අවශ්‍ය තරම් වද ප්‍රමාණය (ඉඩ) රැජිනියට සැපයීම.

② වැඩිවෙන පරිනත බිඟු ගහනය ප්‍රසාරණය (පැතිරීම) වීම සඳහා අවශ්‍ය වද ප්‍රමාණය (ඉඩ) සැපයීම.

③ පැණි ගබඩා කිරීම සඳහා අවශ්‍ය වද ප්‍රමාණය (ඉඩ) සැපයීම.

මෙහි දී මෙම සියලු ඉඩකඩ අවශ්‍යතාවයන් සපයා දිය යුත්තේ ඒ සඳහා වද සැපයීමෙන් බව හොඳින් අවධාරණය විය යුතු ය.

කුඩා ගණාවාසයකට වැඩිපුර ඉඩ (හිස් ඉඩ) සැපයීමෙන් එම ගණාවාසයට ඉහඳ රැක්කවීම හා ආක්‍රමණකාරී සතුරන්ගෙන් ආරක්ෂාවීම යන කාරණා හරියාකාරව ඉටුකර ගැනීමට නොහැකිවේ. එනිසා ඉඩ සැපයිය යුතුව ඇත්තේ ගණාවාසයකට වර්තමානයේ ඇති අවශ්‍යතාවය මත වේ. සිටිනා බිඟු ගහනයට තම කැදැල්ලේ පර්යන්තය කාර්යක්ෂමව රැක ගැනීමට හැකි විය යුතුය. එනිසා හොඳින් ධාරණය කළ යුතු වැදගත් කරුණක් නම් ගණාවාසයකට අවශ්‍ය ඉඩකඩ යනු හිස් ඉඩකඩ ප්‍රමාණයක් නොවන බවත් නමුත් එය අවශ්‍ය වද ප්‍රමාණය හෝ වද පරිමාව නැතහොත් කැදලි පරිමාව බවත් ය. එනම් ඉහත සඳහන් සියලු අවශ්‍යතාවයන් සඳහා ඉඩ සපයා දිය යුතුව ඇත්තේ ඒ සඳහා වද සැපයීමෙනි.

වර්තමාන සල-වද-හයිවයේ කැදලි පරිමාව වෙනස් කිරීම සඳහා උපාංග කිහිපයක් ද උපක්‍රම කිහිපයක් ද ඇත. එනම් සල-බිත්තිය ඉහඳ කැදැල්ලට සැපයිය යුතු ඉඩ වෙනස් කිරීමට භාවිතා කල හැක. පැණි පෙට්ටි, වද සහිත හෝ රහිත පැණි රාම සැපයීමෙන් හෝ ඉවත් කිරීමෙන් අනෙක් ඉඩ ප්‍රමාණයන් ද වෙනස් කල හැක.

සල-වද-හයිවයක සිටිනා බිඟු කැදැල්ලක ස්වාභාවික වර්ධනයට අවහිරවන සාධක එම් හයිවය සැලසුම් කිරීමේදීම අප විසින් ඇතිකර තිබෙන නිසා බිඟු ගහනයේ ප්‍රමාණයත් සමගින් වද පරිමාව ප්‍රශස්ත මට්ටමක තබා ගැනීම මෙවැනි හයිවයක් පාලනය කිරීමේදී අතිශයින් ම වැදගත් වන කරුණකි. මෙම අවහිරයන් කාලානුරූපීව ඉවත් කරමින් හයිවයේ ඇති ගණාවාසයේ ස්වාභාවික වර්ධනයට දිරි නොදුනහොත් අවසාන ප්‍රතිඵල අසතුටුදායක විය හැක.

සල-වද-හයිවයක සැලසුමෙන් අප බලාපොරොත්තු වන්නේ ඉහඳ කැදැල්ල හයිවයේ පහළින් ම ඇති ඉහඳ පෙට්ටියේ පැවතීමටත්, සැණි ගබඩා කරණා පැණි පෙට්ටි හයිවයේ ඉහළින් පිහිටීමත් ය. මෙම පිහිටීම ඇත්ත වශයෙන්ම හයිවයේ පිහිටි කැදැල්ලේ අවසාන භාගයේදී හෙවත් පැණි අස්වැන්න ලබාගන්නා කාලයේ දී තිබිය යුතු තත්වයයි. කෙසේ වෙනත් සල-වද-හයිවයක ගණාවාසයක් නඩත්තු කිරීමේදී අප මුලින්ම පටන් ගන්නේ පහළින්ම පිහිටි ඉහඳ පෙට්ටියෙනි. මෙහිදී ස්වාභාවිකව සිදුවන පහළට වද වැඩීමට බාධා පැමිණේ. මෙනිසාම උපායශීලි බිඟුපාලකයින් විසින් ඉහඳ කැදැල්ල බාධාවකින් තොරව නිරන්තරයෙන් ම වැඩීමටත්, ඉහළින් පිහිටි කොටස්වල පැණිරැස් කිරීම සඳහා වද සැපයීමටත් සැලසුම් කළයුතු ය. මෙය ඉෂ්ඨකර ගැනීමට ඉහඳ පෙට්ටියේ ඇති මේරූ පරණ වද සැලැස්මකින් යුක්තව හා ක්‍රමානුකූලව පැණි පෙට්ටි වලට සැපයිය යුතු ය.





**5.18 රූපය:** සේවිකා බිඹුන් අතර වූ රැජින සහිත ඉහළ වදයක්. කොතරම් ඉක්මනින් රැජින සොයා ගත හැකිද? මෙම රූපයේ මෙන් නොව වදයක් මතදී බිඹුන් නොසැලී නොසිටිනා බව මෙහිදී මතක් කර දිය යුතුය. රූපය වම් පස හා පහලින් ඇති ඊතල සලකුණු රූපය තුළට ප්‍රක්ෂේපනය කිරීමෙන් රැජින සිටිනා ස්ථානය සොයා ගත හැක.



**5.19 රූපය:** ගණාවාසයක තත්වය, එය ඇති හයිවය විවෘත කිරීමෙදී මෙවැනි බිඹුවැල් දැකීමෙන් නිරණය කළ හැක. මෙය ගණාවාසය හොඳ තත්වයක පවතින බවට ඇති වැදගත් සාධකයකි. නමුත් රැජින දැකීමෙන් පමණක් ගණාවාසයේ තත්වය නිර්ණය කළ නොහැක.



**5.20 රූපය**: බිඟුන විසින් බැඳීමට ආරම්භ කළ අලුත් වදයකි. ආහාර සැපයුම ප්‍රමාණවත් නම් මෙවැනි වදයක් දින 3 කදී පමණ බැඳිය හැක. මෙම වදයේ රැජිනිය දැනටමත් බිජුලෑමට පටන් ගෙන ඇති බව පෙනී යයි.



**5.21 රූපය**: *උසපටියක බැඳි 50% වැඩුනු වදයකි. මෙම ප්‍රමාණයට වදයක වැඩුනු විට එයට යාබදව තවත් අලුත් වදයක් බැඳීමට හිස් උස පටියක් සැපයීම වැදගත් ය.*

#### 5.3.2.2. පාරිසරික තත්වය මත තීරණය වන ඉඩකඩ අවශ්‍යතාවය

ඉඩකඩ අවශ්‍යතාවය පාරිසරික තත්වය මත රඳා පවත්නා ගහනයේ ප්‍රමාණය මත තීරණය වන අතර මෙම සංසිද්ධිය පහත සඳහන් අයුරු පාලනමය අවධි තුනකට වෙන්කර දැක්විය හැක.
එනම්:

① කැදැල්ලේ වර්ධක අවධිය තුළදී ගහන පාලනය,
② පැණිවාරය තුළදී ගහන පාලනය හා
③ අහේනි කාලය තුළද ගහන පාලනය,

යනුවෙනි.

## 5.3.3. වර්ධක අවධිය තුළදී ගහන පාලනය.

මීට පසුව සඳහන් වන කොටස් වලදී වද ප්‍රමාණයේ පාලනය හා අනුරූපී ගහනයේ පාලනය අවස්ථා 34 කින් විස්තර කර ඇත. මෙම අවස්ථා 34 දී භාවිතා කර ඇති කෙටි යෙදුම් හා සංකේතයන් ගේ පැහැදිලි කිරීමක් 5.22 රූපයෙන් විස්තර කර ඇත.

සාමාන්‍යයෙන් උඩ ලෑල්ලෙන් හයිවයක ඇති බිහු කැදැල්ලක ඉහළ මායිම පෙන්වා දුන්න ද උඩලෑල්ල සෑම විටම කැදැල්ලේ ඉහළ මට්ටමට වහාම ඉහළින් ම තැබිය යුතු නැත. උදාහරණයක් වශයෙන් ගණාවාසයට අතිරේක ආහාර සැපයීමට අවශ්‍ය වූ විටක එම ආහාර බඳුන කැදැල්ල උඩින් තැබීමට නම් එයමත අවශ්‍ය හිස් ඉඩක් තිබිය යුතු ය. මේ සඳහා රාමු රහිත පැණි පෙට්ටියක් භාවිතා කළයුතු අතර මෙම අවස්ථාව 5.23 රූපයෙන් පැහැදිලි කරදී ඇත.

#### 5.3.3.1. කැදැල්ලේ වර්ධනයට මුල පිරීම

ඉහදවද දෙකකින් පමණක් සමන්විත වූ කුඩා ගණාවාසයක් ගැන සලකා බලමු. මෙම කුඩා ගණාවාසයට සල බිත්තිය භාවිතයෙන් ස්වල්ප කැදලි ඉඩක් ලබා දී ඇත. මෙම ගණාවාසය වැඩෙනවා දැයි දැන ගැනීම වැදගත් වන අතර එය දැන ගැනීමට ඇති හොඳම ක්‍රමය නම් ගණාවාසය වැඩෙන්නට ඉඩ හැරීමයි. මේ සඳහා මෙම වද දෙකකින් යන් ඉහද කැදැල්ලේ එක් පැත්තකට හිස් උඩු පටියකින් (හෝ හිස් ඉහද රාමුවක්) සැපයීමෙන් කැදැල්ලේ වර්ධනය පරීක්ෂා කළ හැක (5.24 රූපය 1 වන අවස්ථාව). ආහාර සැපයුම සතුටුදායකනම් දැන් කැදැල්ල වර්ධනය විය යුතු ය. හිස් උඩුපටියක් හෝ රාමුවක් මගින් කැදැල්ල අසල හිස් ඉඩක් ඇති කලවිට බිහුන් එම ස්ථානයේ වදයක් බැඳීමට පටන් ගත යුතු ය. මෙය දින කිපයකින් ම හොඳින් පැහැදිලි වන අතර මේ සඳහා දින 7 ත් 10 ත් අතරදී ගණාවාසය නැවත පරීක්ෂාකළ යුතුය. මෙවිට ගණාවාසය වර්ධනය වන්නේ නම් එම සැපයූ හිස් උඩු පටියේ වද බැඳීම ආරම්භ කර තිබිය යුතු ය. 5.25 රූපයෙන් උඩු පටියක බඳිනා වදයක නොයෙක් අවස්ථා ද එම අවස්ථාවන් වි අනුරූප වදයේ සාපේක්ෂ විශාලත්වය ද විදහා දක්වයි. වදය සුළු මොහොතක් පරීක්ෂාකිරීමෙන් එහි ප්‍රමාණය නිර්ණය කිරීමට හැකි විය යුතු ය. බිහුන් අලුත් වද බැඳීමට ඇල්මක් නොදක්වන්නේ නම් එයින් පෙනී යන්නේ ඔවුන් හට අවශ්‍ය පෝෂණයක් නොලැබෙන බවයි. එනිසා මෙම අවස්ථාවේදී ඔවුනට අතිරේක ආහාර සැපයීම වැදගත් ය. ගණාවාසය වර්ධනය වන්නේ නම්, එම අලුත් වදය 50% ප්‍රමාණයකට වැඩීමට ඉඩ හැරිය යුතුය (5.24 රූපය 2 වන අවස්ථාව). 50% වැඩුණු වදයක් 5.21 රූපයේ පෙන්වා ඇත. අලුත් වදය 50% මට්ටමට වැඩුණු විට එය ඉහද කැදැල්ලේ මැදට ගෙන ආ යුතු අතර එය තිබූ මුල් ස්ථානයේ තවත් වදයක් බැඳීම සඳහා හිස් ඉඩක් සැපයිය යුතු ය (5.24 රූපය 3 වන අවස්ථාව). 5.21 රූපයේ ඇති 50% වැඩුණු වදය, 5.26 රූපයේ ඇති සම්පූර්ණයෙන් වැඩුණු වද හා සංසන්දනය කරන්න.

## ගත යුතු ක්‍රියා මාර්ගය




## ගත් ක්‍රියාමාර්ගයට පෙර හෝ පසුව පවත්නා තත්වය

2 වන පැණි පෙට්ටිය

හිස් පැණි රාමුව

උඩු ලෑල්ල හෙවත් ඇතුළු වැස්ම **(කැදැල්ලේ ඉහළ සීමාව)**

1 වන පැණි පෙට්ටිය

වද සහිත පැණි රාමුව

වද නියාමක සහිත උඩු පටිය

සළ බිත්තිය

ඉහළ පෙට්ටිය

හයිවේ පතුළ හෝ අඩියේ ලෑල්ල **(කැදැල්ලේ පහළ සීමාව)**

සම්පූර්ණයෙන් වැඩුනු වදයක්

50% වැඩුනු වදය

මැද ඇති හිස් ඉඩ

දොරටුව

**5.22 රූපය:** හයිවයක ඇතිකරන බිඟු ගණාවාසයක් පාලනය කිරීමේදී පිළිපැදිය යුතු අවස්ථා විස්තර කිරීම. හයිවයේ වහල පෙන්වා නොමැත. බිඟු කැදැල්ල අන්තර්ගත වන හයිව උපාංග පමණක් මෙහි පෙන්වා ඇත.



**5.23 රූපය:** *අතිරේක ආහාර සැපයීමක් කරණා විටදී ආහාර බඳුනේ හා උඩලෑල්ලේ සාපේක්ෂ පිහිටීම. ආහාර බඳුනේ පියනේ ඇති තනි සිදුර කැදැල්ලට ඉඳුරාම ඉහළින් තිබීම වැදගත් වේ. ඊතලයෙන් (↑) එය දක්වා ඇත.*

1



2



3



4



5



**5.24 රූපය** *කුඩා ගණාවාසයක වර්ධනයට මුල පිරීම. ඉහළ වද 2 කින් යුත් ගණාවාසය ඉහළවද 4 දක්වා, අවස්ථා 1 සිට 5 දක්වා, පියවර 5 කින් වර්ධනය කිරීම.*

ඉහත සඳහන් වූ සියලු කාර්යයන් සිදු කල යුත්තේ ගණාවාසයකට අවම පීඩාවක් වන සේ ය. ඇත්ත වශයෙන්ම මෙම කාර්යයන් සඳහා ගණාවාසයට කිසිම ගැහැටක් කිරීම අවශ්‍ය නොවේ. ගණාවාසය කුඩා එකක් වූ බැවින් දුම් භාවිතය ද අවශ්‍ය නොවන ඇත. සියලු ක්‍රියාවලින් හා නිරීක්ෂණයන් සඳහා සල බිත්තිය ඉහඳ කැඳැල්ලක් ඉවතට තල්ල කිරීමෙන් පමණක් ලබාගත් ඉඩ ප්‍රමාණය තුලින් සිදු කළ හැක. යම් ප්‍රමාණයකින් හෝ කැළඹීමක් සිදුවන්නේ 50% වැඩුණ අයිනේ තිබූ ඉහඳ වදය මැදට ගැනීමේ දී පමණී. මෙය ද අවම කැලඹීමක් ඇතිවන අයුරු සැලකිල්ලෙන්, ඉක්මනින් හා ප්‍රවේශමෙන් කල යුතු ය.

අලුත් වදයක් 50% ක් වැඩීමට ගතවන කාලය මෙතෙක් යැයි කිමට නොහැක. ප්‍රාථමික අවධියේදී එය සතියක් හෝ සති කීපයක් තුළදී සිදු විය හැක. මෙම වද වැඩීමේ සීඝ්‍රතාවය තීරණය වන්නේ ආහාර සැපයුම මත ය. එනිසා වර්ධනයට මුල් පරන අවස්ථාවේදීම අතිරේක ආහාර සැපයීම ඉතා යෝග්‍ය වේ.

ප්‍රථම අවස්ථාවේ මෙන් දෙවනුවට සැපයූ හිස් ස්ථානයේ වදයක් සෑදීමත් එහි වර්ධනයක් පිළිබඳ සැලකිලිමත් විය යුතු ය. මෙය ද 50%ක වැඩීමක් පෙන්නුම් කළවිට පෙර සේම ඉහඳ කැදැල්ල මැදට ගෙන ගිය හැක (5.24 රූපය 4 හා 5 වන අවස්ථාවන්). දැන් මුලින් තිබූ සම්පූර්ණයෙන් වැඩුණ වද දෙක දෙපැත්තෙන් ද අලුතින් සාදා වැඩෙමින් පවතින අලුත් වද දෙක මැදින් ද වශයෙන් ඉහඳ කැදැල්ලේ වද හතරක් ඇත. 5.25 රූපයේ නිරූපණය කර ඇති ඉහඳ වදයක් වැඩීමේ විවිධ අවස්ථාවන් හා ප්‍රමාණයන්, 5.26 රූපයේ දක්වා ඇති සම්පූර්ණයෙන් වාගේ වැඩුණ වදය සමග සංසන්දනය කරන්න. සාමාන්‍යයෙන් වදයක් සම්පූර්ණයෙන් ම වැඩීමට මාසයක් පමණ කාලයක් ගතවේ. දැන් අප ගණාවාසයේ වැඩීම ආරම්භ කර ඇති අතර මෙම වර්ධන මට්ටම එලෙසම පවත්වා ගැනීමට වැදගත්වන්නේ පරිසරයෙන් ලැබෙන ආහාර සැපයුමයි. එනිසා ස්වාභාවික ආහාර සැපයුම සීමාකාරී නම් කෘත්‍රිමව (අතිරේක) ආහාර සැපයීමක් කළ යුතු ය. සාමාන්‍යයෙන් ඉහඳ වද දෙකකින් ආරම්භකළ ගණාවාසයක් ඉහඳ වද හතරක විශාලත්වයකට පැමිණීමට සති 6ක් හෝ ඊට අඩු කාලයක් ගතවේ.

### 5.3.3.2. ඉහඳ වද හයක් දක්වා වර්ධනය කර ගැනීම

ගණාවාසයේ වර්ධනයට මුලපුරා එය ඉහඳ වද හතරක් දක්වා වැඩුණ පසු එම වර්ධන සීඝ්‍රතාවය නවදුරටත් පවත්වා ගත යුතු ය. දැන් අපට ඉහඳ කැදැල්ල මැදට ඉදුරාම හිස් ඉඩක් සැපයීමෙන්, අලුත් වද ආරම්භයන් වර්ධනයත් එහි මධ්‍යයේම මින්පසුව ඇති වීමට ඉඩ සැලසිය හැක (5.27 රූපය 6 වන අවස්ථාව). දැන් ගණාවාසයේ සැහෙන බිඟු ගහනයක් ඇති නිසා ඉහඳ කැදැල්ල මැද්දේ හිස් ඉඩක් සැපයීමෙන් එයින් සැලකිය යුතු පීඩාවක් සිදුනොවේ. ඉහඳ කැදැල්ලේ මැද්දට වද නැතිම සඳහා හිස් ඉඩක් සැපයීමෙන් එය තුළ තනන අලුත් වද වඩාත් ඉක්මනින් සෑදීමටත් පරිපූර්ණ කිරීමටත් දිරි ගැන්වේ. ප්‍රශස්ත තත්වයන් යටතේ නම් සති 2 කට අඩු කාලයක දී බිඟුන් විසින් 50% විශාල අලුත් වදයක් තැනිය යුතුය. මෙම වර්ධන සීඝ්‍රතාවය ඉහඳ කැදැල්ලේ වද 6ක් ඇති වනතෙක් මැදට හිස් උඩු පටියක් (එනම් හිස් ඉඩක්) සැපයීමෙන් දිගටම කරගෙන යා යුතු ය. අලුත් හිස් ඉඩ සැපයිය යුත්තේ ඊට ප්‍රථම හිස් පරතරයක් 50% හෝ ඊට වඩා මදක් විශාල වූ වදයක් තනා ඇති විට ය (5.27 රූපය, 7, 8 හා 9 වෙනි අවස්ථා බලන්න).

### 5.3.3.3. බිඟු කැදැල්ල පළමු පැණි පෙට්ටිය දක්වා ව්‍යාප්ත කිරීම

ඉහඳ පෙට්ටිය වද හයක් දක්වා වර්ධනය වී ඇති විට (5.27 රූපයේ 9 වන අවස්ථාව බලන්න) ඉන් ඔබ්බට වන වර්ධනය ඉහලින් ඇති පළමු පැණි පෙට්ටියේ රාමුවල වද ගොඩනැගීම සඳහා භාවිතා කළ යුතු ය. මෙයින් අප බලාපොරොත්තු වන්නේ කැදැල්ල ඉහලට ක්‍රමවත් ලෙස ව්‍යාප්ත කිරීමයි. මෙය පහත සඳහන් අයුරින් ඉටුකර ගත හැක. ඉහඳ පෙට්ටියේ අයිනක ඇති පරණම වදය ඉවතට ගෙන එය උඩුපටියෙන් වෙන්කර පැණි රාමුවකට ඇතුළු කළ හැකියේ ක්‍රමානුකූලව කපා ගත ලැබේ. එක් ඉහඳ වදයකින් පැණි රාමු දෙකක් පිරවීමට අවශ්‍ය වද ප්‍රමාණයක් ලබාගත හැක (5.28 රූපය 10 වෙනි අවස්ථාව). මෙම වද මාරුව කරණ අවස්ථාවේ දී ඉහඳවදයේ පැණි හා පරාග ගබඩාද බොහෝ විටක ඉහඳන්ද




**5.25 රූපය:** *උපස්ථිතක වැටෙන විදැසක විවිධ අවස්ථා සහ ප්‍රමාණයන්. 50% ක් වූ වැටෙන අවස්ථාව දැන ගැනීම වැදගත් වන්නේ එවිට එය අනාවරණය නවත විදයක් බැඳීමට ඉඩ සැපයිය යුතු බැවිනි.*



**5.26 රූපය**: සම්පූර්ණයෙන් වැඩුණු වදයක්, මෙහි දෘශ්‍යමානව බිඟුන් 450 ක් පමණ ඇති අතර වදයක සිටිනා බිඟුන්ගේ ප්‍රමාණය පිළිබඳව ක්ෂණික තක්සේරුවක් කිරීමට හැකි වීම කට්ටි බෙදීමේ දී වැදගත් වේ ( 6.3 කොටු බලන්න). 5.25 රූපයේ පෙන්වා ඇති වදයේ වර්ධන ප්‍රමාණයන් සමග සසඳන්න.













**5.27 රූපය:** *පහළ කැදැල්ලේ වර්ධනය පියවර 4 කින් වද හයක් දක්වා ගෙන ඒම. 6 සිට 9 වන අවස්ථාව දක්වා.*







**5.28 රූපය:** *පළමු පැණි පෙට්ටිය වෙත කැදැල්ල වර්ධනය කිරීම. 10 හා 11 වෙනි අවස්ථා*

තිබිය හැක. නමුත් මෙම වදයේ ඇති ඉහඳ සම්බන්ධයෙන් නැකීමට අවශ්‍ය නොවේ. මෙහිදී වඩා වැදගත් වනුයේ පරණ ඉහඳවදය භාවිතා කර කැදැල්ල පළමු පැණි පෙට්ටිය දක්වා විශාල කිරීම වේ. ඉහඳ වදය කපා පරිපූර්ණ කළ පැණි රාමු දෙක ඉහඳ කැදැල්ලට වහාම ඉහලින් හා මැදට වන්නට තැබිය යුතුය. 5.7 සිට 5.12 දක්වා රූප වලින් මෙම වද මාරුකිරීමේ ක්‍රියාවලිය හොඳින් පැහැදිලි කරයි.

වද මාරුවෙන් පසු ඉහඳ පෙට්ටියේ ඉතිරි වී ඇත්තේ වද 5 ක් පමණි. දැන් නැවතත් පෙර සේම හිස් උඩපටියක් ඉහඳ කැදැල්ල මැදට වද බැඳීම සඳහා සැපයිය යුතුව ඇත (5.28 රූපය 11වන අවස්ථාව). මෙම වද මාරු කිරීමේ ක්‍රියාවලිය පැණි පෙට්ටියේ රාමු 6ක් සම්පූර්ණ වන තෙක් නොහොත් ඉහඳ පෙට්ටියෙන් ඉහඳ වද 3ක් පැණි රාමුවලට මාරු කරන තුරු, ඉහඳ පෙට්ටියේ උපරිම වද ගණන 6 කට පමණක් සීමාකර ගනිමින් දිගටම කරගෙන යා යුතුය (5.29 රූපය 12 සිට 16 අවස්ථාව තෙක්)

### 5.3.3.4. ඉහඳ කැදැල්ල වද හතක් දක්වා විශාල කිරීම

පළමු පැණි පෙට්ටිය වද රාමු හයකින් සම්පූර්ණ වී ඇති අවස්ථාවේ දී ඉන් ඔබ්බට වන ඉහඳ කැදැල්ලේ විර්යනය එය වද හතක් (7) දක්වා විශාල කර ගැණීමට භාවිතා කළ යුතු අතර මෙම අවස්ථාවන් 5.30 රූපයේ, අවස්ථා හතරකින් (17 සිට 20 අවස්ථා වලින්) පැහැදිලි කර ඇත.

### 5.3.3.5 බිහු කැදැල්ල දෙවන පැණි පෙට්ටිය දක්වා ව්‍යාප්ත කිරීම සහ පැණි පෙට්ටි දෙකේම රාමු වද වලින් පරිපූර්ණ කිරීම.

ඉහඳ පෙට්ටියේ වද 6කට වඩා ඇති විට දී (5.30 රූපය 20 වන අවස්ථාව) එහි ඇති පරණම වදය නැවත වරක් පැණි රාමු පරිපූර්ණ කිරීම සඳහා භාවිතා කලහැක. මෙහිදී ඉහඳ වදයේ භාගයන්ගෙන් පරිපූර්ණවූ පැණි රාමු දෙක මලින්ම සැපයිය යන්නේ පළමු වන පැණි පෙට්ටියේ මැදට ය. ඒ සඳහා ඉඩ ලබාගැනීමට පළමු පැණි පෙට්ටියේ ඇති වද රාමු දෙකක් දෙවන පැණි පෙට්ටියට මාරු කළ යුතු ය. වද මාරු කිරීමේ ක්‍රියාවලිය 5.31 රූපයේ හා 5.32 රූපයේ 21 සිට 30 වෙනි අවස්ථා දක්වා ඇති අවස්ථා 10 කින් විස්තර කර ඇති අතර පැණි පෙට්ටි දෙකේ පැණි රාමු 14 ම පරිපූර්ණ වන තෙක් මෙම ක්‍රියාවලිය දිගටම කර ගෙන යා යුතු ය.

මෙම ක්‍රියාවලියේදී ඉහඳ පෙට්ටියේ අයින් වලින් ලබා ගන්නා වද ඉදුරාම දෙවන පැණි පෙට්ටියට සැපයීමක් නොකල යුතු ය. ඒ වෙනුවට අලුතින් ඉහඳ වද භාග ලැබූ පැණි රාමු මලින්ම පළමු වන පැණි පෙට්ටියේ මැදට සැපයිය යුතු අතර පළමු පැණි පෙට්ටියේ මේ වන විටත් තිබූ වද සහිත පැණි රාමු පමණක් (පැණි පෙට්ටියේ අයින් වල), දෙවන පැණි පෙට්ටියට සැපයිය යුතු ය. මෙය වඩාත් වැදගත් වන්නේ ඉහඳ කැදැල්ලේ අයින් වද වල බොහෝ විට වද මාරු කරන අවස්ථාවේදීත් ඉහඳන් තිබෙනා බැවිනි. මෙම ඉහඳන් හට සාත්තු බිහුන්ගෙන් සප්පායම් ලැබීම අනවශ්‍යය. සාත්තු බිහුන් ඉහඳ ඇති කරන ප්‍රදේශය වන ඉහඳ කැදැල්ලේ මධ්‍යයේ සුලභව සිටිනා අතර ඔවුන් දෙවන පැණි පෙට්ටිය තෙක් ගමන් නොකරයි. මේ හේතුව නිසා පැණි රාමුවලට සැපයූ ඉහඳ සහිත වද ඉහඳ ඇති කරණා ප්‍රදේශය ආසන්නයෙන්ම තිබිය යුතු ය. මෙම ඉහඳ අන්තර්ගත වද මාරුවේදී අනවරයකට පත්වන්නේ වදය කැපීමේදී කැපුම් රේඛාවේ අන්තර්ගත වන සජ් ඉහඳ ප්‍රමාණය පමණි. නමුත් එවැනි සුළු අනවරයකට වඩා වැදගත් වාසි මේ නිසා ඉදිරි කාලයේදී ලබා ගත හැක.

### 5.3.3.6 ඉහඳ පෙට්ටිය සම්පූර්ණ කිරීම

පැණි පෙට්ටි දෙකේ රාමු සියල්ලටම වද සපයා පරිපූර්ණ කිරීමෙන් පසුව, ඊළඟ පියවර විය යුත්තේ ඉහඳ පෙට්ටියේ වද ප්‍රමාණය අටක් දක්වා වැඩිමට අවකාශ සැලසීමයි. මෙම ක්‍රියාවලිය 5.33 රූපයේ 31 සිට 34 දක්වා අවස්ථා වලින් විස්තර කර ඇත.
















**5.29 රූපය:** *පළමු පැණි පෙට්ටි සහිත කැදැල්ල වර්ධනය කිරීම. 12 සිට 16 වෙනි අවස්ථා.*













**5.30 රූපය:** *ඉහළ කැදැල්ලේ ඉහළ වද 7 දක්වා වර්ධනය වීම. 17 සිට 20 වෙනි අවස්ථා.*



















**5.31 රූපය:** *පළමු පැණි පෙට්ටිය වද වලින් පරිපූර්ණ කිරීම සහ කැදැල්ල දෙවෙන පැණි පෙට්ටිය දක්වා ව්‍යාප්ත කිරීම. 21 සිට 26 වෙනි අවස්ථා*













**5.32 රූපය:** *දෙවන පැණි පෙට්ටියත් වද වලින් පරිපූර්ණ කිරීම. 27 සිට 30 වෙනි අවස්ථා.*













**5.33 රූපය**: *ඉහළ පේළිය සම්පූර්ණ කිරීම හා සල බිත්තිය ඉවත් කිරීම. 31 සිට 34 වෙනි අවස්ථා.*



| පැණිවාරය ආරම්භයේදී පරිපූර්ණකර සුදානමින් ඇති පැණි පෙට්ටි ප්‍රමාණය | බලාපොරොත්තු විය හැකි පැණි අස්වැන්න |
|---|---|
| 2 | කි.ග්‍රෑ. 2 ~ 5 |
| 4 | 5 ~ 10 |
| 6 | 10 ට වැඩි |




5.34 රූපය පැණිවාරය ආරම්භ ප්‍රථමයෙන් හයිවයක ඇති ගණාවාසයක තිබිය යුතු තත්වය හා බලාපොරොත්තු විය හැකි පැණි අස්වැන්න.

### 5.3.3.7 පැණි වාරයට ප්‍රථම ඇතිවන සිසු වර්ධන අවධිය

පැණි වාරයකට පෙර සීඝ්‍ර වර්ධන අවධියක් දක්නට ලැබෙන අතර මෙම සංසිද්ධිය පැණි වාරයට සති 4 කට හෝ 6 කට පමණ පෙරාතුව ඇතිවේ. මෙම අවධිය තුළදී රංචු බෙදී යාම පාලනය කිරීමත් ගණාවාසය පැණි වාරය සඳහා පිළියෙල කිරීමත් කළ යුතු කාල පරිච්ඡේදයකි. පැණි වාරය ලබන විටදී ගණාවාසයේ අවම වශයෙන් පැණි පෙට්ටි දෙකක්වත් සර්ව සම්පූර්ණව තිබිය යුතු ය. මීට ඉහත අවධින්හි වර්ධනය සතුටුදායක මට්ටමක පැවති ගහනය දෙවැනි පැණි පෙට්ටිය පිරෙන තෙක් ව්‍යාප්ත වී ඇති නම් බිහු පාලකයාහට කනස්සල්ලට පත් වීමට කාරණයක් නොමැත. සමහර විටක ඔහු තුන්වන පැණි පෙට්ටියක් ද පරිපූර්ණ කිරීමට තීරණය කළ හොත් එයද ගණාවාසයේ හොඳ වර්ධන වේගයක් ඇති නම් ඉෂ්ට කරගත හැක (5.17 රූපය හා 5.3 කොටස බලන්න).

සීඝ්‍ර වර්ධන අවධියේදී පොදුවේ දක්නට ලැබෙන වැදගත් වූ තවත් සංසිද්ධියක් නම් ගණාවාසයේ පුබරුන් (පුං බිහුන්) ඇතිවීමයි. තව රැජිනන් ඇති කර රංචු බෙදී යෑමට පෙරාතුව ඇතිවන පුං බිහුන් මීළඟට ගත යුතු ක්‍රියාමාර්ගයන් ගැන බිහු පාලකයාට කල්තබා දෙන සංඥාවක් වැනිය. ඉහද කැදැල්ලේ මැදට දෙන හිස් උඩ පටිය ගණාවාසයේ අවශ්‍යතාවය අනුව නියම කාලයට ප්‍රතරවද තැනීම සඳහා සැපයෙන විශේෂ පහසුකමකි. ප්‍රවර ඉහද දැකීම (6.4 රූපය බලන්න) තුදුරු අනාගතයේ සිදු වීමට ඇති සංසිද්ධීන් පිළිබඳ ඉතාමත් කාලෝචිතවූත් සක්ෂමවූත් හෝඩුවාවකි. මෙම හෝඩුවාව තේරුම් ගන්නා බිහු පාලකයින් මීළඟ සති කිහිපය තුළදී රංචු බෙදී යෑම පාලනය කිරීම සඳහා ගණාවාස කට්ටි බෙදීමටත්, එමගින් ගණාවාස සංඛ්‍යාව වැඩිකර ගැනීමටත් සූදානම් වේ. රංචු බෙදී යෑම පාලනය කිරීම හා ගණාවාස බෝකර ගැනීම 6 වන පරිච්ඡේදයේ සවිස්තරාත්මකව සඳහන්වේ.

### 5.3.3.8. ගණාවාසයක ප්‍රශස්ත ප්‍රමාණය

ප්‍රශස්ත පැණි නිෂ්පාදනයක් සඳහා ගණාවාසයක තිබිය යුතු හොඳම ප්‍රමාණය කුමක්දැයි නිතර අසනු ලබන ප්‍රශ්නයකි. මෙම ප්‍රශ්නයේදී පැණි අස්වැන්න රඳාපවතින්නේ ගණාවාසයේ ගහනයේ ප්‍රමාණය මත යැයි උපකල්පනය කෙරේ. 2.1 කොටසේ දැක්වූ කරුණු අනුව මෙම උපකල්පනය නිවැරදිය. කෙසේ වෙතත් පැණිවාරයට ප්‍රථම ගණාවාසය ලැබූ වර්ධන තත්වය මත පැණිවාරය තුළදී පවත්නා ගහනයේ ප්‍රමාණය තීරණය වේ. වර්ධනයේ ප්‍රමාණය තීරණය වන්නේ ස්වාභාවිකව හෝ කෘත්‍රිමව ලැබෙන ආහාර සැපයුම මතය. එනිසා ස්වාභාවිකව ලැබෙන ආහාර සැපයුම සීමාකාරී වූවිට කෘත්‍රිමව (අතිරේක) ආහාර සැපයීම ගණාවාසයේ ප්‍රමාණය නිර්ණය කිරීමෙහි ලා වැදගත් වන අතර මෙම කරුණු සම්බන්ධයෙන් වැඩි විස්තර 7.5 කොටසේ සඳහන් කර ඇත. පැණි පෙට්ටි හයක ප්‍රමාණයක් පමණ දක්වා විශාල ගණාවාසයන් අතිරේක ආහාර සැපයීමෙන් හා හොඳින් සැලසුම් කළ වද මාරු ක්‍රමයකින් පහසුවෙන්ම ඇතිකරගත හැක (5.17 රූපය බලන්න).

සාමාන්‍යයෙන් පිළිගත් රීතියක් වශයෙන් ගණාවාසයකට සැපයෙන අතිරේක ආහාර ප්‍රමාණය අවුරුද්දකට සීනි කිලෝග්‍රෑම් 4 ක් හෝ ඊට වඩා අඩු විය යුතු අතර ගණාවාසයක වාර්ෂික නිෂ්පාදනය අවම වශයෙන් පැණි කිලෝග්‍රෑම් 10 ක් වත් විය යුතු ය. මෙම සීමාවන් සිහියේ තබා ගනිමින් බිහු පාලකයින් තමා බලාපොරොත්තු වන ගණාවාසයේ ප්‍රමාණය තීරණය කර ගත යුතුව ඇත. මොනයම් අවස්ථාවකදී හෝ මෙම සීමාවන් තුළ බිහු පාලන ව්‍යාපාරයක් ගෙනගිය නොහැකි නම් එහිදී බිහු පාලනයෙන් අර්ථවත් නිෂ්පාදනයක් ලබා නොදේ (10 වන පරිච්ඡේදයේ බිහු පාලනයේ ආර්ථික විග්‍රහය බලන්න).

යමෙක් ඉහද වද දෙකකින් පමණක් සමන්විත වූ ගණාවාසයකින් ආරම්භ කළ හොත් එය පැණි වාරයේ ආරම්භය තෙක් ලබා ඇති වර්ධනයෙන් පැණි පෙට්ටි 2 ක් සම්පූර්ණ කිරීමට තරම් විශාලත්වයෙන් යුතු කැදැල්ලක් ඇතිකර ගැනීම අප රටේ බොහෝ තත්වයන් යටතේ සිදු කර ගත හැක. මෙහිදී අප පැණි වාරයට මාස 6 කට පමණ පෙරසිට කැදැල්ල වර්ධනය කළ බව උපකල්පනය කරන ලැබේ. නමුත් යමෙක් ආරම්භයේදීම වඩා විශාල ගහනයක් සහිත ගණාවාසයක් භාවිතා කලේ නම් පැණි වාරය ආරම්භයේදී එහි පැණි පෙට්ටි දෙකකට වඩා වැඩි ප්‍රමාණයකින් යුක්ත වේ. 5.34 වැනි රූපයෙන් ගණාවාසයේ ප්‍රමාණයන් හා එයට අනුරූපීව බලාපොරොත්තු විය හැකි අස්වැන්නන් විදහා දක්වයි.

### 5.3.3.9. ගණාවාසයක ගහනය වැඩිකර ගැනීම සඳහා ගණාවාස දෙකක් පූට්ටු කිරීම හෝ ඈඳීම

පැණිවාරයට ප්‍රථමයෙන් තමා විසින් නඩත්තු කරනු ලබන ගණාවාස සංඛ්‍යාවත් එම ගණාවාසයන්ගේ ගහනයේ ප්‍රමාණයත් යන කරුණු දෙක බිහු පාලකයෙකු විසින් සැලකිය යුතු වැදගත් මාතෘකා දෙකකි. පැණි පෙට්ටි දෙකකට වඩා අඩු ගහනයකින් යුතු ගණාවාස නිෂ්පාදන ගණාවාසයන් සේ සැලකිය නොහැක. එවැනි ගණාවාසයන් අනෙක් ගණාවාසයන්ගේ ගහනය වැඩි කර ඒවා ශක්ති සම්පන්නකිරීමට හෝ අඩු ගහන ගණාවාසයන් දෙකක් ඈඳීමෙන් ප්‍රශස්ත ගහනයකින් යුතු එක් ගණාවාසයක් ඇති කිරීම සඳහා, එම අඩු ගහන ගණාවාස භාවිතා කළ යුතුව ඇත. අධි ගහනයකින් යුත් ගණාවාස ස්වල්පයක් හෝ එකක් තිබීම අඩු ගහනයකින් යුත් ගණාවාස බොහෝ ගණනක් තිබෙනවාට වඩා ප්‍රයෝජනවත් වේ. මෙනිසා අඩු ගහන ගණාවාස පූට්ට කර ප්‍රශස්ත ගහන ගණාවාස ඇති කර ගැනීමෙන් වඩා හොඳ පැණි අස්වැන්නක් ලබා ගත හැක.

ගණාවාස පූට්ට කිරීම ක්‍රමානුකූලව කළ විට එය ඉතා පහසු කාර්යයක් වනු ඇත. එය ක්‍රමානුකූලව කරන්නේ කෙසේ ද? ප්‍රථමයෙන් ම පූට්ට කළ යුතු (ඈඳිය යුතු හෝ දායක) ගණාවාසයේ රැජිනිය ඉවත් කර එය රැජින රහිත ගණාවාසයක් බවට පත් කළ යුතු ය. ඉවතලන රැජින තනිවම ඉවත් කරනවාද (මෙහිදී රැජින විනාශ වී යයි) නැතහොත් එක ඉහද වදයකින් පමණක් සමන්විත කුඩා කට්ටියක් සමගින් ඉවත් කරනවාද යන්න තීරණය කළ යුත්තේ බිහු පාලකයා ය. කුඩා කට්ටියක් සමගින් ඉවත් කර ගත් රැජින සහිත කොටස ළඟ එන පැණිවාරය තුළදී හොඳින් වැඩී සාමාන්‍ය තරම් ගණාවාසයක් බවට පත්වේ හෝ සමහර විටකදී එය ආධුනික බිහුපාලකයෙකුට විකිණිය හැක.

රැජින රහිත ගණාවාසය දැන් රැජින සහිත ගණාවාසය සමගින් කඩදාසි ක්‍රමය භාවිතා කර පූට්ට කළ හැක. මෙහිදී එකිනෙකින් සෙන්ටිමීටරයක් පමණ දුරකින් සිටිනාසේ අල්පෙනෙත්ති තුඩකින් සිදුරු කළ ප්‍රවෘත්ති පත්‍ර පිටුවක දෙපැත්තටම සීනි පැණි ඉසින ලැබේ. මෙම පැණි ඉසින ලැබූ සිදුරු සහිත කඩදාසිය රැජින සහිත ගණාවාස මත එලනු ලැබේ. කඩදාසිය එලීමට ප්‍රථම එම ගණාවාසයට දුම් ස්වල්පයක් තුහදින් ගැසිය යුතුය. කඩදාසිය එලූ පසු ඒ මත රැජින රහිත ගණාවාසය තබනු ලැබේ. 5.35 රූපයෙන් පෙන්වා දී ඇති අයුරු කඩදාසියට යටින් රැජින සහිත ගණාවාසය ද කඩදාසියට උඩින් රැජින රහිත ගණාවාසය ද තබා ඇත. මෙසේ තැබූ පසු රැජින රහිත ගණාවාසයට උඩ ලෑල්ලේ ඇති වාතන සිදුරු තුළින් දුම් ස්වල්පයක් ගසන්න. රැජින රහිත ගණාවාසයේ බිහුන්හට පිටවීමට නොහැකි අතර මෙම ගණාවාස දෙක මෙලෙස පසුදා වන තෙක් තබන්න.

කඩදාසිය දෙපස ගණාවාස දෙකේ සිටිනා බිහුන් එය සපා සිදුරු කර (5.36 රූපය) ඒ තුළින් එකිනෙකා පැය කීපයකට පසු හමුවීම, එකමුතු කමින් හා සමගියෙන් යුක්තව ඔවුනොවුන් මිශ්‍රවන අවස්ථාවකි. සාමාන්‍යයෙන් ගණාවාස දෙකක බිහුන් මිශ්‍රවීමේ දී ඇතිවන සටන් කාරී ස්වභාවය මෙහිදී ඇති නොවේ. පස දින බිහුන් හොඳින් මිශ්‍ර වී ඇති විට බිහු පාලකයා විසින් මුල් රැජින රහිත ගණාවාසයේ තිබුණු හොඳ ඉහදවද රැජින සහිත කොටසට සැපයීමත් ඉහද පෙට්ටි දෙකෙන්ම ලබාගත් මේරූ ඉහද වද, පැණි වද වලට සපයා ඇලෙනිත් ශක්තිමත් කරවූ මෙම ගණාවාසයේ පැණි පෙට්ටි නිසි පරිදි සැකසීමක් කළ යුතුව ඇත. රැජින රහිත ගණාවාසය තිබූ ඉහද පෙට්ටිය වද සැකසීමෙන් පසු ඉවත් කරනු ලැබේ.

### 5.3.3.10 ගණාවාසයක ගහනයේ වර්ධනය හෝ ක්ෂීණනය තීර්ණය කිරීම

ගණාවාසයක ගහනයේ වර්ධනය හෝ ක්ෂීණනය තීර්ණය කළ හැකි හොඳ ක්‍රමයක් නම් උඩලෑල්ලේ ඇතුළු පැත්තේ හා පලබිත්තියේ පිටපැත්තේ වසා සිටිනා බිහුන්ගේ ප්‍රමාණය තීරණය කිරීමෙන්ය. හයිවය විවෘත කිරීමේ දී උඩලෑල්ලේ ඇතුළු පැත්ත නිරීක්ෂණය කිරීම ප්‍රයෝජනවත් පුරුද්දකි. මේ සඳහා කළයුතු

එකම දෙය නම් උඩලෑල්ල එක් පැත්තකින් අරින අතර එහි ඇතුළු පැත්ත නිරීක්ෂණය කිරීම වේ. එහි බිහු පොදි හෝ එක් ස්ථරයකට වඩා වැඩි ප්‍රමාණයකින් බිහුන් සිටිනවානම් එයින් ගහනයේ තෙරපීමක් ඇතිවී තිබෙන බව තේරුම් ගත හැක. එනම් ගණාවාසය වර්ධනය වෙමින් තිබෙනා බවත් එනිසා පැණි පෙට්ටිවලට වැඩිපුර වද ප්‍රමාණයක් සැපයිය යුතු බවත් පෙන්වා දේ.

එමෙන්ම බිහුන්ගෙන් නොවැසුණු හෝ බිහුන් නොගැවසෙන හිස්වද කැදැල්ලේ ඇතිනම් එයින් ගහනය ක්ෂීණනය වෙමින් පවත්නා බව තේරුම් ගත හැක. ක්ෂීණනය වෙමින් ඇතිවිට වැඩිපුර ඇති හිස්වද ඉවත් කිරීමෙන් කැදැල්ලේ ප්‍රමාණය කුඩා කිරීම හෝ අතිරේක ආහාර සැපයීමෙන් නැවතත් ගහනය වර්ධනය කර ගැනීම පවත්නා අවශ්‍යතාවයන් අනුව සිදු කළයුතු ය. කැදැල්ලක ප්‍රශස්ත ප්‍රමාණය තීරණය කරනු ලබන්නේ එහි ඇති වද ප්‍රමාණය එක් බිහු ස්ථරයකින් පමණක් වසාගෙන සිටීමට ඇති හැකියාව මත ය. බිහුන් කැදැල්ලේ අන් ස්ථානයන්හි පොකුරු නොගැසෙන අතර ඉහද කැදැල්ලේ පහළ පැත්තේ ඉහද රැක්කවීමට උපකාර කරන පිණිස පොකුරක් සාදයි. නමුත් රාත්‍රි කාලයේ දී හයිවයේ දොරටුවේ හා ඉන් පිටත බිහු පොකුරු දක්නට ලැබේ නම් එයින් හයිවය අභ්‍යන්තරයේ විශාල තෙරපීමක් ඇති බව පෙන්වා දෙන අතර මෙම තත්වය වහාම සමනය කළ යුතුය (6 වන පරිච්ඡේදය බලන්න).

## 5.3.4. පැණි වාරය තුළදී ගහන පාලනය

ශ්‍රී ලංකාවේ බොහෝ අවස්ථාවල දක්නට ලැබෙනා පැණි වාරයන් සති 4 සිට 6 දක්වා පැවතේ. එනිසා මෙවන් කෙටි කාලයක් තුළදී පසුගිය මාස 10 යේදී පමණ ගණාවාසයන් නඩත්තු කිරීමටත්, වර්ධනය කර ගැනීමටත් වැය කළ මහන්සියේ ප්‍රතිඵල උපයාගත යුතුව ඇත.

ගණාවාසයේ ගහනයේ ප්‍රමාණය තීරණය කිරීමේදී ඉතාමත් වැදගත් වන එක් සාධකයක් නම් පැණිවාරය ආරම්භයේදී හෝ පැණිවාරය තුළදී සිදුවන රංචු බෙදී යෑමේ ස්වාභාවික සංසිද්ධිය වේ. මෙය වඩාත් සවිස්තරව 6 වන පරිච්ඡේදයේ වෙනම දක්වා ඇත.

සැලකිය යුතු අනෙක් වැදගත් කාරණයක් නම් ඉහද පෙට්ටියේ මෙම අවධියේ සිදුවන සීඝ්‍ර වද වර්ධනය සඳහා අවශ්‍ය තරම් ඉඩ සපයා තිබීමයි. පැණි වාරය තුළදී ඉහද කැදැල්ලේ ඇති සියලුම හිස් කුටීර පැණි වලින් පිරී යන හෙයින් රැජිණට බිජ ලෑම සඳහා අවශ්‍ය ඉඩ ප්‍රමාණය ඇහිරී යයි. මෙනිසා ඉතා හොඳින් පාලනය කර බිහුන් විසින් ගෙනෙන මධු ගබඩාකිරීම සඳහා සියළු පැණි පෙට්ටි වද වලින් සම්පූර්ණ කර තිබෙන ගණාවාසයන් හිද සිදු වන පොදු සංසිද්ධියකි. මෙවිට රැජිනට බිජුලෑමට ඇති එකම ඉඩ ප්‍රමාණය සපයනු ලබන්නේ වැඩෙමින් පවත්නා වදවල දාරයේ ගොඩනැගෙමින් තිබෙනා නව කුටීර මගින් ය.

විශේෂයෙන් පැණිවාරය ආරම්භයේදී රංචු බෙදී යෑම පාලනය කිරීමට කට්ටි බෙදූ නිෂ්පාදන ගණාවාසයන්හි ඉහද පෙට්ටියේ අලුත් වද බැඳීම සඳහා අවශ්‍ය ඉඩ සැපයීම ඉතා වැදගත් ය. රැජිනට බිජ ලෑම සඳහා අවශ්‍ය ඉඩ ප්‍රමාණය වැඩිපුර සපයනු ලබන්නේ අලුතින් ම බඳිනා වද වලින් මිස පෙර සිට තිබූ වද වලින් නොවේ. එනිසා පැණි වාරය තුළදී ඉහද පෙට්ටියේ වද බැඳීමට ඇති අවශ්‍යතාවය හඳුනා ගැනීමත් ඒ සඳහා කාරණා කටයුතු යෙදීමත් වැදගත් ය. 5.34 රූපයෙන් එම අවස්ථාවේ මෙම අවශ්‍යතාවය එළිගන්වා ඇත.

## 5.3.5. අහේනි කාලය තුළදී ගහන පාලනය

පැණිවාරයකින් පසුව ඇතිවන අවධියේදී පරිසරයෙන් සැපයෙන ආහාර වල අඩුවක් හෝ නැතිවීමක් දක්නට ලැබෙන අහේනි කාලයකි. මේ හේතුව නිසා මෙම අවධිය සාර්ථකව පසු කිරීමට ගණාවාසයට අවශ්‍ය තරම් ගබඩා කළ ආහාර තිබිය යුතුය. මෙම අහේනි කාලය සඳහා ගණාවාස සූදානම් කිරීම පැණි වාරය ඉකුත්වනවාත් සමගින් කරණා අවසාන පැණි නිස්සාරණ අවස්ථාවේදී කළ යුතු ය. මෙහිදී

සාමාන්‍යයෙන් පැණි වලින් පිරී ඇති එක් පැණි පෙට්ටියක් අහේනි කාලය තුළදී ගණාවාසයේ පරිභෝජනය සඳහා ඉතිරි කරනු ලැබේ.

පැණිවාරය ඉකුත්වීමෙන් පසු බිඟු ගහනයේ ක්ෂීණතයක් දක්නට ලැබෙන අතර මෙය වඩාත් පැහැදිලිව දක්නට හැක්කේ පැණි පෙට්ටිවල සිටි බිඟුන් අඩුවී හෝ නැතිවී යාමෙනි. මෙම ගහන ක්ෂීණතය අනිවාර්යයෙන්ම සිදුවිය යුත්තක් වන අතර එය පැණිවාරය ඉකුත් වී මාස 5 ක පමණ කාලයක් තුළ බලපවත්වයි. මෙම අහේනි කාලය තුළදී පැණි වද බොහොමයක් බිඟුන්ගෙන් තොරවන අතර මෙම හිස් පැණිවද ඉටිසලබ ආක්‍රමණයට ලෙහෙසියෙන් ම ගොදුරුවේ.

ගහනය ක්ෂීණතය වනවාත් සමගින් උඩින්ම පිහිටි පැණි පෙට්ටිවලින් පටන් ගෙන ක්‍රමයෙන් වදරාම ඉවත් කර ගත යුතු ය. මේ සමගින්ම උඩු ලෑල්ලද ක්‍රමයෙන් පහළට ගෙන ඒමෙන් කැදැල්ලට අවශ්‍ය ඉඩ ප්‍රමාණය සලසන ලැබේ. කැදැල්ල ක්ෂීණතය වීමට ඉඩ හැරිය යුත්තේ ඉහද වද හයක් දක්වා පමණි. ක්ෂීණතය වීමේ උපරිම මට්ටම ඉහද වද හයකට පමණක් සීමා කළ යුත්තේ, ඉන්පසුව එළඹෙන මාස 5ක් පමණවූ වර්ෂක අවධියේදී මෙම ගණාවාසය නැවතත් පැණිවාරය සඳහා වර්ධනය කළයුතුව ඇති හෙයිනි. කොතරම් අවස්ථාවක හෝ ක්ෂීණතය වීම ඉහත සඳහන් උපරිම මට්ටමෙන් ඔබ්බට ගියවිට එය අතිරේක ආහාර සැපයීමෙන් නවතාලිය යුතුව ඇත. එනම් මෙවැනි තත්වයක් යටතේදී පැණි නිෂ්පාදන වියදම ඉහළයයි. මේ හේතුව නිසා බිඟු පාලනයට සුදුසු ගෙදරයනක් තෝරා ගැනීමේ දී, අහේනි කාලය තුළදී අවම වශයෙන් අතිරේක ආහාර සැපයීමක් අවශ්‍ය වන ස්ථානයක් තෝරා ගැනීම වැදගත් ය. මේ පිළිබඳ විට ඉහත 2.3 කොටසේ දී කරුණු පැහැදිලි කර ඇත.

අහේනි කාලය තුළ වන සැපයුමේ හීනතාවයන් නිසා හාමත් භාවයට පිවිසෙන ගණාවාසයනට හැරයෑමේ ආවේගය පහසුවෙන්ම ඇතිවිය හැක. එනිසා බිඟු පාලකයා ගණාවාස හැරයෑමේ ප්‍රශ්නය පිළිබඳ අහේනිකාලය තුළදී වඩාත් සැලකිලිමත් විය යුතුය. හැරයෑමේ ආවේගය ඇතිවූ ගණාවාසයන් පාලනය කිරීම 7 වන පරිච්ඡේදයේ පැහැදිලි කර ඇත.

## 5.4. ඊළඟ පැණිවාරය සඳහා හිස් පැණි වද ආරක්ෂා කිරීම හා ගබඩා කිරීම

ගණාවාසයේ ගහනය ක්ෂීණතය වනවාත් සමගින් ඉවත් කරණ හිස් පැණිවද ඊළඟ පැණිවාරයේ දී ප්‍රයෝජනයට ගැනීම සඳහා ආරක්ෂාකර තැබීම සාර්ථක බිඟු පාලනයේදී වැදගත් වේ. බිඟු පාලකයන් පැණිවද සම්පූර්ණයෙන් ම බිඟුන්ගෙන් තොරවන තෙක් කල් නොයවා ගණාවාසය ක්ෂීණතය වීමේ ලක්ෂණ පෙන්වන මුල් අවධියේදීම ක්‍රමයෙන් එවා හයිවයෙන් ඉවතට ගත යුතු ය. එනම් හිස් පැණිවද රාම ඉවත් කරණ අවස්ථාවේදී ඒවා වසාගෙන බිඟුන් තවමත් සිටිනවා විය හැක, සිටිය යුතුය.

හිස් පැණිවද රාම සඳහා ඇති ප්‍රබලතම උවදුර නම් ඒවා ඉටිසලබ කීටයන් විසින් තම ආහාරය සඳහා යොදාගැනීමෙන් සිදුවන විනාශයයි. බොහෝ විට ඉටිසලබ කීටයා ක්ෂීණතය වෙමින් පවත්නා ගණාවාසයක අයින්වල හෝ උඩින් ඇති වද වලට එම වදවල බිඟුන් ස්වල්ප දෙනෙකු සිටින අවස්ථාවලදී පවා ආක්‍රමණය කරයි. බොහෝ විට ආක්‍රමණයේ මුල් අවස්ථාවලදී ඒ බව අපට දැන ගැනීමට නොහැකි අතර මෙම අවධියේදී ඉටිසලබයාගේ සුපුරුදු සේද දැල්ද දැක ගත නොහැක. මේ හේතුව නිසා අසම්පූර්ණ ලෙස බිඟුන්ගෙන් වැසී තිබූ කැදැල්ල පර්යන්තයේ තිබෙන වද වලට ඒ වනවිටත් ඉටිසලබ කීටයා ආක්‍රමණය කර ඇතැයි උපකල්පනය කිරීම නුවණටහුරු ය. එනිසා හිස් පැණිවද හයිවයෙන් ඉවත් කළ යුත්තේ ඒවා බිඟුන් විසින් වසා සිටින අවස්ථාවේදී ය.

ඉහළින්ම ඇති බිහුන් විසින් සම්පූර්ණයෙන්ම ආවරණය නොකළ හිස් පැණිවද ඉක්මනින් ඉවත් කර ආරක්ෂා කිරීමට කටයුතු යෙදිය යුතු ය. හිස් පැණි වද ඉවත් කරන අවස්ථාවේ එම වද වල සව පැණි ප්‍රමාණයක් හෝ නොතිබීම වැදගත්ය. පැණි වාරය අවසන්වී සති කිහිපයකින් (හෝ දින කිහිපයකින්) වද වල සුළුවෙන් පවා ඇති පැණි අවසන්වී යනවාත් සමගින්, ඒවා වසා සිටිනා බිහුන් අඩුවී යාමට පෙර හයිවයෙන් හිස් පැණි වද ඉවත් කිරීම වැදගත්ය. මෙය ඉටිසලබ හානිය වළක්වාගත හැකි හොඳම ක්‍රමයයි.

හිස් පැණිවද කාණ්ඩ වශයෙන් පොලිතින් උරවල බහා එය සළං නොවදිනසේ (වායුරෝධක වනසේ) තැබියෙන වද ආරක්ෂාකර ගත හැක. කාර්යය සාධක වද ආරක්ෂා කිරීමේ ක්‍රියාවලියක් පහත සඳහන් වේ.

- හිස් පැණි වද රාමු 5 –10 ත් අතර ප්‍රමාණයක් අන්තර්ගත උරයේ විවෘත කොන දහර කැපීමෙන් එහි අන්තර්ගත ද්‍රව්‍ය වායුරෝධනය වනසේ හොඳින් එය වසන්න. දහර කැටු කොන කිහිපවරක් නවා, රබර් පටියකින් බැඳීමෙන් වායුරෝධන තත්වය දිගටම තබාගත හැක. මේ ක්‍රියාවලියක් ඉටුකිරීමේ දී පොලිතින් උරය තුළට වැඩිමනත් වාතය ඇතුළු වී එය වැසූ පසු පිම්බී තිබීම නොසුදුසු නිසා ඒ ගැන මුල සිටම සැලකිලිමත් විය යුතු ය. ආරක්ෂිත වද රාම සහිත උර කාඩ්බෝඩ් පෙට්ටියක අසුරා එම පෙට්ටිය තුළට **කපුරු** (නැෆ්තලින් Naphalene) හෙවත් **කා බෝල** කිපයක් දමා එය නිවසේ වියලි සිසිල් ස්ථානයක ගබඩා කළහැක. වද දැමූ උරය තුළට කිසිවිටකත් කා බෝල නොදැමිය යුතුය. (5.35 රූපය බලන්න)

නැවතත් හිස් පැණි වද ගණාවාසවලට සැපයීමට අවශ්‍ය විට ඒවා පොලිතින් උරවලින් ඉවතට ගෙන පැණි පෙට්ටිවල සැකසිය යුතු ය. මෙම පැණි පෙට්ටි දැන් ඉදිරාම අවශා ගණාවාස වලට දිය හැක

## 5.5. ගහන පාලනමය අවස්ථාවන්ගේ සාරාංශය

වගුව 5.1: රබර් කලාපයේ **(බස්නාහිර හා සබරගමු පළාත්වල)** සහ රතුගම් යුකැලිප්ටස් (බදුල්ල දිස්ත්‍රික්කයේ **බණ්ඩාරවෙල ප්‍රදේශය**) වගා යටතේ වන පැණිවාරයන් දෙකකදී කාලානරූපීව සැලකිය යුතු ගහන පාලනයේ ප්‍රධාන අංගයන්.

| පාලනමය අවධිය | රබර් පැණිවාරය | යුකැලිප්ටස් පැණිවාරය | කළයුතු වැදගත් පාලනමය ක්‍රියාමාර්ගයන් |
|---|---|---|---|
| ගණාවාසයේ ගහනය හා වද පරිමාව වර්ධනය වීම **(කැදැල්ල වර්ධනය)** | සැප්තැම්බර්<br>ඔක්තෝබර්<br>නොවැම්බර්<br>දෙසැම්බර් | මාර්තු<br>අප්‍රේල්<br>මැයි<br>ජූනි | - වර්ධනය ප්‍රශස්ත මට්ටමට ගෙන ඒමට අතිරේක ආහාර සැපයීම.<br>- පැණි පෙට්ටි වද වලින් පරිපූර්ණ කිරීම |
| පූර්ව පැණිවාරය | ජනවාරි | ජූලි | - රංචු බෙදියැම පාලනය<br>- ගණාවාස පුළුල් කිරීම |
| **පැණිවාරය** | පෙබරවාරි<br>මාර්තු | අගෝස්තු<br>සැප්තැම්බර් | - මුල් අවධියේදී රංචු බෙදීයාම පාලනය<br>- පැණි නිස්සාරණය |
| පසු පැණිවාරය | අප්‍රේල් | ඔක්තෝබර් | - පැණි වාරය ප්‍රමාදවූවා නම් හෝ දීර්ඝ වූවානම් පැණි නිස්සාරණය |
| ගණාවාසයේ ගහනය හා වද පරිමාව ක්ෂිණනය වීම **(කැදැල්ල ක්ෂිණනය)** | මැයි<br>ජූනි<br>ජූලි<br>අගෝස්තු<br>සැප්තැම්බර් | නොවැම්බර්<br>දෙසැම්බර්<br>ජනවාරි<br>පෙබරවාරි<br>මාර්තු | - හිස් පැණි වද රාමු ඉවතට ගැනීම ආරක්ෂා කිරීම හා ගබඩා කිරීම<br>- හැරයාම වැලැක්වීම |




**5.35 රූපය:** *ගණාවාස පුවිට කිරීම 1: ඉහළින් ඇති රැජින රහිත ගණාවාසය (#34) පහළින් ඇති රැජින සහිත (#89) ගණාවාසය සමග කඩදාසි ක්‍රමය භාවිතා කර ඒක්කාසු කිරීමට මොහොතකට පෙර. සීනි පැණි ඉසින ලද කුඩා සිදුරු සහිත පුවත්පත් පිටුව රැජින සහිත ගණාවාසය මත එලා ඇත.*




**5.36 රූපය:** *ගණාවාස පුවිට කිරීම 2: හයිව් දෙක ඒකාතුකර දිනකට පසුව බිඟුන් විසින් පුවත් පත් පිටුව සිදුරු කර ඔවුනොවුන් මිශ්‍රව විශාල තනි ගණාවාසයක් සේ කටයුතු කිරීමට පටන්ගෙන ඇත.*



**5.37 රූපය:** හිස් පැණි වද ආරක්‍ෂා කිරීම හා ගබඩා කිරීම. හිස්පැණි වද වායුරෝධක පොලිතීන් උරවල දමා සිසිල් වියලි ස්ථානයක ගබඩා කළ යුතුවේ.

# 6. රංචු බෙදීයාම පාලනය සහ නව ගණාවාස නිෂ්පාදනය

## 6.1. රංචු බෙදීයාම

රංචු බෙදීයාම හෙවත් බිඟුන් ගේ ස්වාභාවික ප්‍රජනන ක්‍රියාවලිය සිදුවන්නේ පූර්ව පැණි වාරය තුළදී හෝ ප්‍රධාන පැණි වාරය ආරම්භයේදී ඇතිවන සීඝ්‍ර වර්ධන අවධියේදීය. මනාසේ පාලනය නොකළ රංචු බෙදීයාම හේතුවෙන් ගණාවාසයක ගහනයේ විශාල අඩුවීමක් සිදුවන අතර මේ නිසා පැණි වාරයකින් ලැබෙන ප්‍රයෝජන අල්ප වේ.

නමුත් රංචු බෙදීයාම හොඳින් වැඩෙන ගණාවාසයක් පැණි වාරයට පිවිසීමේදී වර්ධනයේම ප්‍රතිඵලයක් වශයෙන් ඇතිවන ස්වාභාවික සංසිද්ධියකි. එනිසා කිසිවෙකු, රංචු බෙදීයාමට ප්‍රථමයෙන් ඒ සඳහා වන සූදානමේ ප්‍රථම පියවර වශයෙන් ඇති කරණ **පුබරවද** විනාශ කිරීමට හෝ දෙවන පියවර වශයෙන් ඇතිකරණ **රැජින කෝෂ** විනාශ කිරීමට හෝ කිසිවිටකත් උත්සාහ නොදැරිය යුතුය. මෙම අවස්ථාවන් බිඟුන් විසින් තම පාලකයාට ඉදිරියට ඇතිවන තත්වයන් පිළිබඳ සපයන කාලානුරූපී හෝඩුවා වශයෙන් සලකා මෙම ස්වාභාවික ක්‍රියාවලියන් බිඟු පාලකයාගේ පාලනය යටතේ සිදුවීමට ඉඩහැර එය තම වාසියට හරවාගත යුතුය.

බොහෝ විට පැණි වාරයට මාසයකට හෝ දෙකකට පෙර අනුප්‍රාප්තනය කළ අලුත් රැජිනක් පැණි වාරය තුළදී නැවත වරක් රංචු බෙදී යාමට උත්සාහ නොකරනවා යැයි මතයක් ඇත. නමුත් බොහෝ පලපුරුදු බිඟු පාලකයන් දන්නා අයුරු රැජිනියගේ වයස කොතෙක් වුවත් බිඟුන් සෑම විටම පැණිවාරය මුලදී හෝ තුලදී රංචු බෙදී යයි. මෙය බිඟු පාලකයින්ගේ අවධානයට ලක්විය යුතු කරුණක් වන අතර ඒ සඳහා සූදානමින් සිටීමද තමුණට භාරය.

රංචු බෙදීයාමට තුඩුදෙන ප්‍රධාන හේතුන් වශයෙන්, ගණාවාසයේ සිදුවන තදබදය හෝ තෙරපීම නිසා ඇතිවන බිඟුගහනයේ ඝනත්වය වැඩිවීමද, ලැබෙමින් පවත්නා මධු හා පැණි පිරී ගිය වද නිසා රැජිනට බිජුලෑමේ ඉඩ අවකාශ ඇහිරී යාමද සඳහන් කළ හැක. සාමාන්‍යයෙන් මෙවැනි තදබදයක් පැණිවාරය ආසන්නයේ ඇතිවන අතර මේ නිසාම පැණිවාරය තුළදී රංචු බෙදීයාම සිදුවේ. මේ හේතුන් නිසා, 5.3.3. කොටසේ සඳහන් කර ඇති පරිදි තදබදය සමනය කිරීම සඳහා ක්‍රමානුකූලව පරණ ඉහළවද පැණි පෙට්ටි වලට මාරු කිරීමත් සමගින් ගණාවාසය ප්‍රසාරණය කිරීම වැදගත් වේ. රංචුබෙදීයාම සඳහා වැදගත් වන ගහනයේ ඝනත්වය වැඩිවීමේ සංකල්පය 6.1 රූපයෙන් පැහැදිලි කර ඇත. එනිසා රංචුබෙදීයාම අවම තත්වයක පවත්වාගැනීම සඳහා වැදගත් වන්නේ වර්ධනය වන ගණාවාසයක ගහනයේ ඝනත්වය අඩු කිරීමට ක්‍රියා කිරීමයි.

අන් සියලුම හයිවයන්හි (මී කළ, මී කොට ආදිය) ඇති ප්‍රධානතම ගැටලුව නම් ඒවායේ සාදා ඇති බිඟු කැදලි මෙහෙයවීමකට ලක්කළ නොහැකි වීමයි. මේ හේතුවෙන් ඒවා තුළ ඇති කැදැල්ලේ වර්ධනයත් සමග අනිවාර්යයෙන්ම ඇතිවන ගහන ඝනත්වයේ වැඩිවීම පාලනය කිරීමට හෝ අඩු කිරීමට නොහැක. එමෙන්ම සලවද හයිවයකද එහි ඇති ගණාවාසයේ ගහනය වර්ධනය වනවාත් සමගින් වද ප්‍රමාණය වැඩි නොකලහොත් ගෙන දෙන ප්‍රතිඵල අන් නොදියුණු හයිවයන් ගෙන දෙන ප්‍රතිඵල වලට සමාන වේ. කැදැල්ල සල වද හයිවයක තිබුනද, මී කලයක හෝ කොටයක තිබුනද, ස්වාභාවික පිහිටි සිදුරක තිබුනද (6.2 රූපය) ගහනයේ ඝනත්වයේ වැඩි වීමකට හෝ තදබදයක් ඇතිවීමට තුඩු දෙන කාරණා කටයුතු සැලසේ නම් මේ සියලු කැදලි ස්ථානයන්හි පිහිටි ගණාවාස එකම ආකාරයකට හැසිරේ (6.3 වන රූපය). එම්නිසා, සල වද හයිවයක්, මී කළයකට, මී කොටයකට හෝ ගස් බෙනයකට වඩා වෙනස් වන්නේ බිඟු පාලකයාහට තම ගණාවාසය අවශ්‍ය අවස්ථාවලදී කාර්යය සාධක අන්දමට මෙහෙයවීමට හැකියාවක් ලබාදෙන හේතුව නිසා පමණි.




හොඳින් පාලනය කළ ගණාවාසයන්හි ඒකාකාරීව සැතිරුණු බිඟු ගහනයක් ඇත.

සලවද හයිව තුළ ඇති හොඳින් පාලනය නොකළ ගණාවාසයන්හි හා සීමිත ඉඩ ප්‍රමාණයක තැනූ බිඟු කැදලි වල වර්ධනයත් සමගින් ගහනයේ ඝණත්වය වැඩිවීම නිසා අධික තදබදයක් ඇතිවේ.

**6.1 රූපය:** කැදලි ස්ථානයක හෝ හයිවයක සිටින බිඟුන්ගේ ගහන ඝනත්වය වැඩිවීමෙන් ඇතිවන තෙරපීම නිසා ස්වභාවික ලෙස රංචු බෙදියාම සිදුවේ.



**6.2 රූපය**: ගසේ කඳේ ඇතිවූ බිලයක ස්වාභාවිකව තැනූ බිහු කැදැල්ල කින් පිටතට උතුරා යන ගහනය. මෙයින් මෙම කැදැල්ල තුළ ඇති තදබදය පෙන්නුම් කරයි.



**6.3 රූපය**: මෙම බිහු කැදැල්ල තැනීම සඳහා මීළ අධික සලවද හයිවයක් සපයා තිබුනද එයින් සැලකිය යුතු ප්‍රයෝජනයක් ලැබී නොමැත. බිහුන් පැණි රාමුවල වද බැඳ ඇත්තේ ගහනය වැඩිවීම නිසා ඇතිවූ අධික තෙරපීම නිසාය. පැණි රාමුවල වද බැඳ ඇත්තේ හරස් අතට නිසා වද ඉවතට ගත නොහැක. මෙනිසා රාමු භාවිතයෙන් සැලසෙන වාසි සියල්ල නොලැබී යයි. අනෙක් ප්‍රධානතම අවාසිය නම් අධික රංචුබෙදී යැමයි. මෙහිදී වද හැසිරවීම. 5.3.3. කොටසේ සඳහන් කළ ඇති පරිදි පාලනය කළ යුතුව තිබුණි.

කෙසේ නමුත් රංචුබෙදියාම වැලැක්විය නොහැකි අතර එය ගණාවාසයන් බෝවීමේ ස්වාභාවික ක්‍රියාවලියයි. රංචුබෙදීයාම ඒ සඳහා තිබිය යුතු සාධක පරිපූර්ණවූ විට ඇතිවිය යුතුය. මේ හේතුව නිසා රංචුබෙදියාම පාලනය කළ යුත්තේ එයින් බිහු පාලකයාට වාසියක් මිස අවාසියක් නොවන ලෙසිනි.

සාමාන්‍යයෙන් රංචුබෙදියාම සිදුවන අවධියේදී හොඳින් පාලනය කළ ගණාවාසයක නම් ඉහළ පෙට්ටියේ අවම වශයෙන් වද හතක් ද, හොඳින් බිහුන් වසා සිටින සම්පූර්ණ පැණි පෙට්ටි දෙකක් ද තිබිය යුතුය. මෙම අවම තත්වයට වඩා වැඩිපුර පැණි පෙට්ටි තිබීම වඩාත් වාසිදායක වන අතර බිහුපාලකයන් එය ඉෂ්ඨ කර ගැනීමට ප්‍රයත්නයක් දැරිය යුතුය.

## 6.2. රංචු බෙදියාමේ සූදානම පෙරාතුව දැනගැනීම

පැණිපෙට්ටියට වද මාරුකිරීම සඳහා ඉහළ පෙට්ටියේ වද වැඩීම පරීක්ෂා කරන අවස්ථාවේදී අලුතින් බදිනා වද වල පුබර ඉහළදන් ඇතිවීම දැකගත හැක. විශේෂයෙන්ම පුබර පිලා අවධිය පහසුවෙන්ම දැක ගත හැකිය (6.4 රූපය). පුබර වද හෝ ඉහළදන් ඇතිකරන බව නිරීක්ෂණය කිරීමෙන් පසු, බිහු පාලකයෙකු ඉන් ඔබ්බට ඇති විය හැකි අවස්ථා ගැන සැලකිලිමත් විය යුතු අතර මේ සියල අවස්ථා සාර්ථක බිහුපාලනයේදී වැදගත් වේ.

පුබර ඉහළ ඇතිවීම පැණිවාරයක් ආරම්භයේදී මෙන්ම වැඩිමනත් අතිරේක ආහාර සැපයූ විටද සිදුවේ. අතිරේක ආහාර සැපයීමේ මට්ටම නොවෙනස්ව ගෙන ගියහොත් පුබරුන් ඇතිවීමෙන් පසුව රැජින කෝෂ සාදා අවසානයේදී රංචුබෙදී යාමක්ද සිදුවේ. එනිසා මෙම කරුණ අනුව රංචු බෙදියාමේ ආවේගය ජනිතකර වීමට ශාක මධු ප්‍රාථමික සාධකයක් වන බව උපකල්පනය කළ හැක.

රංචු බෙදීයාමේ සූදානම පෙරාතුව දැන ගැනීම සඳහා පුබර ඉහළ, වද වල ඇතිවනවාදැයි දැන ගැනීම අත්‍යවශ්‍ය නොවේ. මේ සඳහා පරිනත පුබරුන් ගණාවාසයේ සිටිනා බව දැනගැනීම ප්‍රමාණවත් වේ. පරිණත පුබරුන් ගණාවාසයේ සිටී නම්, බිහු පාලකයාට හට ඔවුන් ඇති බව දැන ගැනීමට ඇති පහසු ක්‍රමයක් නම් දිනයේ සවස් වරුවේ **පුබර පියාසැරි කාලය** තුළ (හෝරා 15:00 න් 17:00 න් අතර) ඉගිලෙන පුබරුන් දැක ගැනීම සඳහා හයිවයේ දොරකඩ නිරීක්ෂණය කිරීමයි. පුබරුන් දිනයේ සැම අවස්ථාවකම අහම්බෙන් මෙන් නොඉගිලේ. නමුත් දිනයේ හවස් කාලයේ **සංසර්ග පියාසැරි කාලය** නම් නියත කාල සීමාවක් තුළදී පමණක් ඔවුන් ඉගිලීමට පටන් ගනී. සංසර්ග පියාසැරි කාලය සහ පුබර පියාසැරි කාලය අනුරූප වේ. ඉගිලෙන මේරූ පුබරුන් ගණාවාසයක සිටීම මීළඟ සති කීපය ඇතුලත එය රංචු බෙදීයාමට සූදානම් වන බව දන්වන වඩාත් නියත දර්ශකයකි.

පුබරුන්ගේ ඇතිවීම හා පැවැත්ම ස්වාභාවිකව හෝ කෘත්‍රිමව කෙරෙනා ආහාර සැපයුම මත රඳාපවතින බව මෙහිදී අවධාරණය කළ යුතුය. යම් විදියකින් ආහාර සැපයුමේ ඌනතාවයක් ඇතිවුවහොත් පුබර නිෂ්පාදනයෙන් පසු රැජින කෝෂ නිෂ්පාදනයක් සාමාන්‍යයෙන් විය යුතු ආකාරයට සිදු වන්නේ නැත. බොහෝ විට ආහාර සැපයුමේ ඌණතාවයක් ඇතිවුවහොත් ගණාවාසය වෙතින් පුබරුන් පිටමං කරණා අතර එවිට ඔවුන් හාමතින් මියයයි.

පෙර සඳහන් කලාක් මෙන් ගණාවාසයකට මධු සැපයුම බහුල වූ විට රංචුබෙදී යාමේ ආවේගය ඇති වීමෙන් මුලින්ම පුබර වද නිෂ්පාදනයත් ඊළඟට රැජින කෝෂ නිෂ්පාදනයත් කරගෙන යයි. සාමාන්‍යයෙන් රැජින කෝෂ නිෂ්පාදනය කෙරෙන්නේ ඉහළ වද වල පහළ දාරයේය. එනිසා, බිහු පාලකයා රංචු බෙදියාම උදෙසා සිදුවන ස්වාභාවික සංසිද්ධීන්ගේ ක්‍රියා පිළිවෙළ අනුගමනය කිරීමෙන්, එය ඉක්මනින්ම සිදුවීමට කටයුතු යෙදී ඇති බව ඒත්තු ගන්නවා නම්, ඔහු විසින් රැජින කෝෂ ඇති බව දැන ගැනීමට ඉහළ පෙට්ටිය පරීක්ෂා කළ යුතුය. මේ සඳහා ඔහු විසින් එක් එක් ඉහළ වදය වෙන වෙනම පරීක්ෂා කිරීමෙන් ඒවායේ පහළ දාරයන්හි ඇති රැජින කෝෂ දැක ගැනීමත් කළ යුතුය.

පැණි වාරය එළඹෙන විටදී, හොඳින් පාලනය කළ ගණාවාසයක බිඟුන් අධික සංඛ්‍යාවක් සිටිනා අතර එය සේවිකාවන් 25,000 ක් හෝ ඊටත් වඩා වැඩි විය හැක. මෙවැනි විශාල ගණාවාසයන්හි ඉහඳ පෙට්ටිය සම්පූර්ණයෙන්ම පරීක්ෂා කිරීමට සැලකිය යුතු මහන්සියක් දැරිය යුතු අතර මේ හේතුවෙන් කැළඹීමට පත්වන බිඟුන්ගේ විත පහර සැලකිය යුතු ප්‍රමාණයක් ලැබීමටද සිදුවේ. බිඟු පාලකයා ඉහඳ පෙට්ටියේ වද බැඳීම සඳහා රාමු වෙනුවට උඩු පටි භාවිතා කරනවා නම් මෙහිදී ඔහට ඉහඳ කැදැල්ලේ තත්වය දැන ගැනීමට **"දර්පණ පෙට්ටිය"** නම් සරල උපකරණය භාවිතයෙන් පහසුවෙන් කළ හැක.

දර්පණ පෙට්ටියක් යනු උඩින් හා පැති වලින් විවෘතව ඇති පහලින් ආනතව, තල දර්පණයක් පිළියෙළ කල සරල උපකරණයකි (6.5 හා 6.6 රූප බලන්න). ඉහඳ වද බැඳීම සඳහා උඩු පටි භාවිතා කරන හයිවයක්, අඩියේ ලෑල්ලෙන් වෙන් කර දර්පණ පෙට්ටිය මත තැබූ විට එම ඉහඳවද වල වර්ධන අවස්ථා ඉතා පහසුවෙන් නිරීක්ෂණය කළ හැක (6.7 රූපය). දර්පණ පෙට්ටිය වඩාත් ප්‍රයෝජන වත් වන්නේ ගණාවාසයන් වැඩි සංඛ්‍යාවක් ඇති විට එම සියල්ලේම ඉහඳ පෙට්ටි පරීක්ෂා කිරීම සඳහා වැඩිපුර කාලයක් හා ශ්‍රමයක් වැය කිරීමට සිදුවන විටය.

මේ ආකාරයටම නිවසේ භාවිතාවන දර්පණයක්ද යොදාගත හැකි අතර ඒ සඳහා දෙදෙනෙකු අවශ්‍ය වේ. මෙහිදී එක් අයෙක් පතුලේ ලෑල්ලෙන් වෙන් කර ගත් හයිවය ඔසවාගෙන සිටිනා අතර අනෙක් නැනැත්තා පහලින් දර්පණය අල්වා ඉහඳ පෙට්ටිය යටින් දුම් ගසා බිඟුන්ගෙන් තොරවූ ඉහඳ වද වල තත්වය දැන ගනී. නමුත් දෙදෙනෙකු සමගින් කළයුතු මෙම පරීක්ෂාව මදක් අපහසු ක්‍රියාවලියකි. දර්පණ පෙට්ටිය සමගින් එක් අයෙක් පමණක් මෙම පරීක්ෂාව කරන්නේ නම් එයින් වඩාත් කාර්යක්ෂම හා ඵලදායි ප්‍රතිඵල ලබාගත හැක. දර්පණ පෙට්ටිය භාවිතයෙන් පහත සඳහන් වාසි ලබා ගත හැක.

**එනම්:**

① ඉහඳ කැදැල්ලේ තත්වය දැන ගැනීමට යන කාලය ඉතා අඩු වන අතර මෙය තනිවදයක් පරීක්ෂා කිරීමට යන කාලයටත් වඩා කෙටි විය හැක.

② ඉහඳ වද එහා මෙහා කිරීමක් අනවශ්‍යය.

③ ඉහඳ කැදැල්ලට සිදුවන පීඩාකාරී බලපෑම් අවම වේ.

④ බිඟුන් කැළඹවීම, කෝපාවිෂ්ඨ වීම හා විත විදීමට ඇති අවස්ථාව අවම තත්වයකට ගෙන ආ හැක.

⑤ රැජින කෝෂ සියල්ලම එකවර පෙනෙන නිසා, විශේෂයෙන්ම, ඒවායේ වර්ධක අවස්ථා පිළිබඳ වඩාත් නිවැරදි හා සූක්ෂම සංසන්දනයක් කළ හැක.

## 6.3. රංචු බෙදීයාම පාලනය සහ නව ගණාවාස නිෂ්පාදනය

රැජින කෝෂ ඇතිවීමත් සමගින් ගණාවාසය එහි ප්‍රවර්තනයේ වැදගත් සන්ධිස්ථානයකට පැමිණෙන අතර බිඟු පාලකයා විසින්ද වැදගත් පාලනමය ක්‍රියා පිළිවෙත් කිහිපයක් අනුගමනය කළයුතුව ඇත.

**එම කරුණු නම්:**

① බිඟු පාලකයා අඩු වශයෙන් එක් රැජින කෝෂයක්වත් හොඳින් මෝරන තෙක් කල් බැලිය යුතුය. රැජින කෝෂය මේරූ බව තේරුම් ගන්නේ එහි කේතු ආකාර කොන මත ඇති ඉටි,කෝෂය මෝරනවාත්




**6.5 රූපය**: ගණාවාස පාලනයේදී ප්‍රයෝජනවත් වන දර්පණ පෙට්ටියේ ක්‍රියාකාරී මූලධර්මය.

සමගින් ක්‍රමයෙන් බිඟුන් විසින් ඉවත් කරනු ලබන නිසා, එය තුනී වී දුඹුරු වර්ණයක් ගැන්වෙයි. බිඟු පාලකයාහට, වෙනෙක් කල් බැලීමක් කළ නොහැකි නම් රැජින කෝෂ පියසූ පසු ඕනෑම අවස්ථාවක **කට්ටි බෙදිය** හැක. එනමුත් නොමේරූ රැජින කෝෂය ඇතුලේ සිටිනා පිලා අවධියට පත් වෙමින් සිටින කීටයා මේරූ රැජින කෝෂයක් තුළ සිටිනා මේරූ පිලවාට වඩා බොහෝ සේ මෘදු ජීවියෙකු නිසා ඉතා පහසුවෙන්ම අනතුරකට භාජනය විය හැකි බව බිඟු පාලකයා සිහි තබා ගත යුතුව ඇත. 6.8 රූපයෙන් කොන තුනී නොකළ නොමේරූ රැජින කෝෂත් ඒවා තුළ සිටිනා නොමේරූ පිලවාත් පෙන්නුම් කරයි.

② 6.9 රූපයෙන් කොන තුනී කර ඇති මේරූ රැජින කෝෂයක් පෙන්නුම් කරයි (6.8 රූපය හා සසඳන්න). මෙවැනි රැජින කෝෂ එකක් හෝ ඇතිවූ විට ගණාවාසය හැකි ඉක්මණින් හෝ ඒ අවස්ථාවේදීම කට්ටි බෙදිය යුතුව ඇත. නැතහොත් ගණාවාසයේ සිටිනා පරණ රැජින දිනක් හෝ පැය කිපයක් ඇතුළත ප්‍රාථමික රංචුවක් රැගෙන පිටවී යනු ඇත. 6.10 හා 6.11 රූප වලින් නැහැඹි රැජිනක් තම කෝෂයෙන් පිටවීමේ අවස්ථා පෙන්නුම් කරයි.

③ දැන් අනිවාර්යයෙන්ම හයිවය විවෘත කර සිටිනා (පරණ) රැජිනිය සොයා ගැනීම පිණිස ඉහද කැදැල්ලේ (පෙට්ටියේ) සියලුම ඉහද වද එකක් පාසා පරීක්ෂා කළ යුතුය. මෙය බිඟු පාලකයෙක් රැජිනිය දැක ගැනීම සඳහා අනිවාර්යයෙන්ම උත්සාහ දැරිය යුතු එකම අවස්ථාව වශයෙන් හැඳින්විය හැක. සාමාන්‍යයෙන් ඉහද වද මත රැජින සිටින මුත්, ගණාවාසය රංචුබෙදී යාමේ උච්ච අවස්ථාවකට එලැඹී ඇති නම් ඇය පැණි පෙට්ටි වලටද යෑම සාමාන්‍ය සංසිද්ධියකි.

④ රැජින සොයා ගැනීමෙන් පසු ඉහද කැදැල්ල රැජින-සහිත හා රැජින-රහිත වශයෙන් කට්ටි දෙකකට බෙදනු ලැබේ. රැජින සහිත කට්ටියට තිබූ ඉහද කැදැල්ලෙන් 25% – 40% කොටසක් හෝ ඉහද වද 2 – 3 දක්වා ප්‍රමාණයක් ලැබේ (6.12 රූපය). එමෙන්ම සියලුම පැණි පෙට්ටි හෙවත් සම්පූර්ණ පැණි කැදැල්ලම රැජින-සහිත කට්ටියට ලැබේ. එමෙන්ම රැජින-සහිත කට්ටියට ලැබුණ ඉහද වද වල ඇති සියලුම රැජින කෝෂ[1] හා කෝප්ප[2] කිසිවක් ඉතිරි නොවන සේ ඉවත් කිරීම වැදගත්ය. රැජින-සහිත කට්ටියට අයත් කුඩාවූ ඉහද කැදැල්ල ද එයට එකතුකළ සියළුම පැණි පෙට්ටිද වන්මින් පැණි වාරය තුළදී පැණි නිෂ්පාදනය සඳහා ඉදිරිපත් කරණ නිෂ්පාදන ගණාවාසයයි. ඉතාමත් හොඳින් වැඩුණ පරිපූර්ණ ඉහද වද රැජින-රහිත කට්ටියට දිය යුතුයි.

⑤ රැජින-රහිත කට්ටියේ තිබෙන හොඳම රැජින කෝෂය (6.9 රූපය) ඉතිරි කර, එම වයසේ හෝ ඊට කිට්ටු වයසක ඇති අන් සියලුම රැජින කෝෂ ඉවත් කළ යුතුය. හොඳම රැජින කෝෂය නිර්ණය කළ හැකි විශේෂ ක්‍රමයක් නොමැත. සාමාන්‍යයෙන් හොඳින් වර්ධනය වූ බාහිරින් පෙනෙන විකෘති වීම් වලින් තොරවූ, හොඳින් මෝරා ඇතැයි සිතිය හැකි රැජින කෝෂය වඩාත් යෝග්‍ය කෝෂය වශයෙන් සලකා, එය ඉතිරි කළ හැක. වැඩිපුර ඇති රැජින කෝෂ ඉවත් කිරීම වඩාත් වැදගත් වෙන්නේ විශාල ගහනයකින් යුත් කට්ටිවල වන අතර, එමගින් බලාපොරොත්තු වන්නේ ගණාවාසයේ මූලිකයා ලෙස කටයුතු කිරීමට එක රැජිනක් පමණක් ඇති වීමය. රැජිනන් එකට වැඩි සංඛ්‍යාවක් ඇතිවූ විට සමහර විටක මුලින් බිහිවූ රැජින ගහනයේ කොටසක් සමගින් ද්විතික රංචුබෙදී යාමෙන් ගහනය දුර්වල වේ. වැඩිපුර ඇති රැජින කෝෂ ඉවත් කිරීම වැදගත් වන්නේ රැජින-රහිත කට්ටියේ ගහනය යම් ප්‍රමාණයකට වඩා වැඩි වූ විටය. රැජින රහිත කට්ටි දැමීම සඳහා තිබිය යුතු හයිව ප්‍රමාණය කාලවේලා ඇතිව සපයා ගැනීමට නොහැකි වූ විට ගහනය වැඩි රැජින-රහිත කට්ටි සෑදීමට සිදුවේ.

⑥ මෙහිදී වැදගත් වන තවත් කරුණක් නම් නොමේරූ (හෝ ලාබාල) රැජින කෝෂයක්[1] හෝ රැජින කෝප්ප[2] එකක් හෝ දෙකක් මුලින් ඉතිරි කළ හොඳින් මේරූ රැජින කෝෂයට අමතරව

[1] රැජින කෝෂය – එනම් අනාගත රැජිනක් බවට පත්වන මේරූ කීටයා හෝ පිලා අවධිය අන්තර්ගත සංවෘත හෙවත් පියැසූ කුටීරය.

[2] රැජින කෝප්පය – එනම් අනාගත රැජිනක් බවට පත්වන බිජුව හෝ කීට අවධිය අන්තර්ගත විවෘත හෙවත් නොපියැසූ කුටීරය.



**6.6 රූපය:** ඉහඳ පෙට්ටිය පරීක්ෂා කිරීම සඳහා දර්පණ පෙට්ටිය භාවිතා කිරීම. පහළින් දුම් ස්වල්පයක් ගැසීමෙන් ඉහඳ වද වල පහළ කෙළවරින් බිඟුන් ඉවත් කර ගත හැක. එවිට ඉහඳ වදයන්හි විවිධ වර්ධන අවස්ථා පහසුවෙන් හා නිවැරදිව නිරීක්ෂණය කළ හැක.



**6.7 රූපය:** ඉහඳ කැදැල්ලේ වදයන්හි වූ, සේවිකා, පුබර හා රැජින යන තුන් ආකාරයක ගණාවාස සාමාජිකයන්ගේ ඉහඳ කුටීරයන්ගේ වෙනස දර්පණ පෙට්ටියෙන් පෙනෙන අයුරු. සේවිකා හා පුබර කුටීර තිරසට පිහිටියද, පුබර කුටීර විශාලව හා වදයේ තලයෙන් පිටතට නෙරා ඇති නිසා පහසුවෙන් වෙන්කර හඳුනාගත හැක. එමෙන්ම සිරස්ව පිහිටන රැජින කුටීර පහළට මුහණලා ඇත.



**6.8 රූපය:** නොමේරූ රැජින කෝෂ. වමේ ඇති රැජින කෝෂයේ මැදූ නොකළ කොනත් දකුණු පස ඇති විවෘත කළ රැජින කෝෂයේ නොමේරූ පිලවාත් පෙනේ ද.



**6.9 රූපය:** මේරූ රැජින කෝෂයක කොන මැදූ කරනවාත් සමගින් එය එම කෝෂයේ අන් කොටස් වලට වඩා සාපේක්ෂව දුර්වර්ණයක් ගනී (වමේ සිට 3 වැනි රැජින කෝෂය).පිලවන් මෝරන විට ඔවුන්ගේ ඇස් ද දම් වර්ණයක් ගනී (වමේ සිට 2 වන හා 5 පස්වන කෝෂ). දකුණු පස සිටිනා මෝරන පිලවාගේ ශරීර වර්ණයද තද පැහැ ගැන්වෙමින් පවතී. දෙපැත්තේ ඇති විවෘත රැජින කුටීර රැජින කෝප්ප වශයෙන් හැඳින්වේ (වමේ සිට 1 වන හා 7 වන කුටීර). වමේ සිට 6 වන රැජින කෝෂයෙන් නව රැජිනක් පිට වී ඇත. ඇය පිටවීම සඳහා විවෘත කළ කෝෂයේ පියන මේ වන විටත් එල්ලෙමින් පවතී.



**6.10 රූපය:** නවරැජින පිටවීමට ඉතා ආසන්නයේ ඇති හොඳින් මේරූ රැජින කෝෂයක්. ඇය කෝෂයේ පියන කැපීම ආරම්භ කර ඇත.



**6.11 රූපය:** නව රැජින ඇගේ කුටීරයෙන් පිටතට පැමිණීම.




**6.12 රූපය:** ගණාවාස කට්ටි බෙදීම: මෙහිදී මල් ගණාවාසයේ (හයිව # 76) රැජිනියට ඉහඳවද දෙකක් පමණක් ඉතිරි කර අන් සියලුම ඉහඳ වද හයිව # 34ට ඉවත් කර ඇත. හයිව # 76 යේ සිටිනා ක්‍රියාකාරී රැජිනියට පසුබිමේ ඇති පැණි පෙට්ටි සියල්ලම සැපයෙන අතර එය පැණි නිෂ්පාදන ගණාවාසය වශයෙන් ක්‍රියා කරයි. හයිව # 34රේ ඇති රැජින රහිත කොටස නැවතත් ඒවායේ තිබෙන රැජින කෝෂ ගණන අනුව කට්ටි 2 කට හෝ 3 කට බෙදිය හැක. මේවායින් නව ගණාවාස ඇතිවේ. එමගින් නව ගණාවාස වැඩි ප්‍රමාණයක් නිෂ්පාදනය කරගත හැක.

තිබීමට හැකිවෙයි. මෙසේ නොමේරූ රැජින කෝෂයක් හෝ රැජින කෝප්පයක් ඉතිරි කරන්නේ, එහි තිබීමට ඉඩ හැරී එකම මේරූ රැජින කෝෂයෙන් පිටවන නැගැණි රැජිනියට අනතුරක් වුවහොත් ඒ සඳහා ගන්නා පූර්වෝපායමාර්ගයක් ලෙසය. මල් රැජිනියට අනතුරක් වුවහොත් පසුව පිටවීමට සිටිනා රැජිනියන් නිසා ගණාවාසය රැජිනක් නොමැතිව විනාශවී යෑමේ අවස්ථාවක් නොඑලැඹේ. සාමාන්‍යයෙන් මුලින්ම මේරූ රැජින කෝෂයෙන් පිටවන රැජිනිය සංසර්ගයේ යෙදුන පසු ඉතිරිව ඇති රැජින කෝෂ විනාශ කර දමා, ඇය ගණාවාසයේ ප්‍රජනක ප්‍රධානියා සේ ක්‍රියා කරයි.

එනමුත් යම් විදියකින් නව රැජිනිය සහිත ගණාවාසයේ ගහනය, හොඳින් වැඩුන ඉහළ වද හතරක් සම්පූර්ණ ලෙස වසා ගැනීමට අවශ්‍ය වන බිඟුන්ගේ ප්‍රමාණයට වඩා වැඩිවුවහොත් ඇය රංචුවක් සමගින් බෙදී යා හැක. මෙවැන්නක් සාමාන්‍යයෙන් සිදුවන්නේ ඉහළ වද හතරකට වඩා විශාල කැදැල්ලක් ඇති රැජින-රහිත ගණාවාසයක නවත් රැජින කෝෂ තිබෙන විටදිය. විශේෂයෙන්ම මල් රැජින අනතුරකට ලක්වී විනාශවී යෑමේ ගැටලුවට පූර්වෝපායක් ලෙස ඉතිරි කරණා රැජින කෝෂ ඇති විටදී, වැඩිපුර ගහනයක් ඇති ගණාවාස වල අනවශ්‍ය රංචුබෙදීයාමක් සිදුවේ. මේ හේතුව නිසා රැජින-රහිත විශාල කට්ටිය ඉහළ වද තුනක් හෝ දෙකක් ඇති, කුඩා කට්ටි වලට නැවත බෙදිය හැක. මෙය විශේෂයෙන්ම විකිණීම සඳහා ගණාවාස ප්‍රමාණය වැඩිකර ගැනීමේ කාර්යක්ෂම ක්‍රමයකි. සාමාන්‍යයෙන් හොඳින් වැඩුණ ඉහළ වදයක් (>80% වඩා වැඩුන වදයක, 5.25 හා 5.26 රූපය බලන්න) හොඳින් වසා ගැනීමට බිඟුන් 800 ත් 1000 ත් අතර ප්‍රමාණයක් අවශ්‍යවේ. මේ අනුව රැජින කෝෂ වැඩිපුර ප්‍රමාණයක් තිබුණත් බිඟුන් 2500 ත් 3000 ත් අතර සංඛ්‍යාවක් සිටිනා කට්ටියක් නව දුරටත් රංචු බෙදීයාමක් සිදු නොවන්නේ එය ඔවුන් විසින්ම පාලනය කර ගන්නා බැවිනි (ස්වයං පලනය).

(7) රැජින-රහිත කට්ටි සහ රැජින-සහිත පැණි නිෂ්පාදන ගණාවාසය එම බිඟු උයනේම විසිරුවා තැබිය හැක. ගණාවාස එකිනෙක අතර තිබිය යුතු විශේෂ දුර ප්‍රමාණයක් නොමැති අතර හෙවනත්, වැස්සෙන් ආරක්ෂාවත් ඇති ඕනෑම තැනක තැබිය හැක. හයිවයන් තැන්පත් කල නව ස්ථානයන්හිද පැයක් පමණ කාලයක් බිඟුන් හට එළියට ඒමට නොදී වසා තැබිය යුතුව ඇත. මෙහිදී සැලකිය යුතු වැදගත් කරුණක් නම් බිඟුන්ගේ කැදලි ස්ථානය වෙනස් කල විට ඔවුනට ඒ බව තේරුම් කර දීම හෝ ඒත්තු ගැන්වීම මේ අවස්ථාවේදී වැදගත්ය (1.6.3.2. කොටස බලන්න). පිහිටීම වෙනස්කල ගණාවාසයක සිටිනා අන්වේෂක බිඟුන්, තම ගණාවාසය පෙර තිබූ ස්ථානයට හුරුපුරුදු වී ඇති නිසා එම ස්ථානයටම නැවත පැමිණීමට උත්සාහ දරන හෙයින්, ගණාවාසයේ නව පිහිටීම පිළිබඳ බිඟුන්හට අවබෝධ කරදීම ඉතා වැදගත් ය. රැජින-රහිත කට්ටි එකකට වඩා වැඩි ගණනක් සෑදූ විට ඒ සියල්ල පළමු ගණාවාස තිබූ ස්ථානය අසළම තැබිය හැක. මෙවැනි අවස්ථාවක, විශේෂයෙන්ම පැණිවාරය පටන්ගෙන තිබෙන නිසා ආහාර සඳහා වන තරඟය නොවැදගත් වන අතර, බිඟු පාලකයාගේ පහසුව තකා ගණාවාස අතර දුර මීටර් 5 ක් පමණ දුරකින් තැබිය හැක. ගණාවාස කට්ටි බෙදීමෙන් පසුව රැජින-සහිත පැණි නිෂ්පාදනය සඳහා භාවිතා කිරීමට බලාපොරොත්තුවන ගණාවාසයේ, මල් ස්ථානය වෙනස් කිරීම වැදගත් ය. රැජින-රහිත කට්ටි අතුරෙන් වඩාත් කුඩා හෝ ගහනය අඩුම කට්ටිය එම මල් ස්ථානයේ තැබිය හැක්. මෙයට හේතුව නම්, බිඟුපාලකයා කොතෙක් උත්සාහ ගෙන ගණාවාස වලට ඒවායේ ස්ථානයේ වෙනස්වීම දැන්වුවත් කෙසේ හෝ යම්කිසි බිඟුන් ප්‍රමාණයක් මල් ස්ථානයට නැවත පැමිණීම වැලැක්විය නොහැකි වීමයි. එනිසා මෙහිදී මෙම බිඟුන් හට වඩාත් කුඩාවූ ගණාවාසයට එක්වී, එහි ගහනය සුලවෙන් හෝ වැඩිකිරීමට උපකාර වියහැක. සමහර විටක දී ක්ෂේත්‍ර බිඟුන් තම හයිවයන්හි පිහිටීම වෙනස් කිරීම තේරුම් නොගැනීම නිසා, ආපසු මුල් ස්ථානයට පැමිණෙන බිඟුන් හේතුවෙන් එම ස්ථානයේ තැබූ ගණාවාසයේ ගහනය අධික වීමට ඉඩ ඇත. එවිට එම වැඩිපුර සිටින බිඟුන් පැණි පෙට්ටියක පැණි වද රාමුවලට ගෙන කඩදාසි ක්‍රමය භාවිතා කර පැණි නිෂ්පාදන ගණාවාසයට හෝ ගහනය අඩු වී ඇති අනෙක් කට්ටිවලට සැපයීම වැදගත් වේ (ගණාවාස ප්‍රටට කිරීම, 5.3.3.9. කොටස බලන්න). 1.6.3.2. කොටසේ සඳහන් කළ අන්දමට වඩා වෙනස් තරමක් පහසුවූ ක්‍රමයක් පලපුරුදු බිඟුපාලකයන් තම ගණාවාස.වල පිහිටි ස්ථානය වෙනස් කළ පසු ඒ බව බිඟුනට දැන්වීමට භාවිතා කරයි. මෙහිදී පළමු පිහිටීමෙන් ස්ථානය වෙනස් කළ කට්ටිය ඇති හයිවයේ දොරටුව අවුන් තණකොල මිටකින් සාදාගත් ඇබයකින් වසනු ලැබේ.

මෙම අලුත් තණකොළ ඇබය වියලී යෑමට පැයක් හමාරක් පමණ ගතවේ. මේ අතර හයිවය ඇතුලේ හිරවී සිටිනා බිඟුන් ද තණකොල ඇබයේ තණපත්‍ර ඇද ඉවත් කිරීමට වෙහෙස දරනු ඇත. තණකොල ඇබය ක්‍රමයෙන් වියලී යෑමෙන්ද, බිඟුන් විසින් කරණ පිටතට පැමිණීමේ උත්සාහයද නිසා පැයකින් හමාරකින් ඔවුන් පිටතට පැමිණෙන විට, ඇතිවුනු ව්‍යාකුලත්වය හේතුවෙන් ඉබේම වාගේ ඔවුන් තම කැදැල්ලේ පිහිටීමේ වෙනස තේරුම් ගනී. මෙම ක්‍රමය වඩාත් සරලවූ ක්‍රමයක් සේ පෙනී ගියත්, මෙහිදී බිඟු පාලකයාගේ පළපුරුද්ද ඉතා වැදගත්ය. භාවිතා කරන තණකොල ඇබය තදවැඩි වුවහොත් බිඟුන්හට එලියට පැමිණීම අපහසු වනු ඇත. එසේම එය ලිහිල් වුව හොත් ස්ථාන වෙනස අවබෝධ නොවේ. කෙසේ වෙතත් මෙම ක්‍රමය සාර්ථකව භාවිතා කළහොත් රැජින රහිත කට්ටිය නැවත පරීක්‍ෂා කල යුතු වන්නේ නව රැජිනිය පට්ටි වැටී (සංසර්ගයේයෙදී) බිජු ලා ඇති බව දැන ගැනීමට පමණි. එනම් කට්ටි බෙදා දින 10 ~ 14 අතර කාලය කින් ය.

⑧ වැඩිපුර ඇති රැජින කෝෂ ඉවත් කරණ අවස්ථාවේදී ඒවා වෙනත් ගණාවාස වලින් බෙදූ රැජින-රහිත කට්ටි වලට සැපයිය හැක (6.13 රූපය). මෙය විශේෂයෙන් ප්‍රයෝජනවත් වන්නේ රැජින කෝෂ ලැබෙන මල් ගණාවාසය උසස් ප්‍රභේදයක (මාදිලියක) ජාන ලක්ෂණ වන, ඉක්මණින් වැඩීම, විශාල කැදලි ප්‍රමාණය, උසස් නිෂ්පාදන තත්වය, ආදිය පෙන්නුම් කරනවා නම්, එම උසස් ලක්‍ෂණ බිඟුපාලකයා සතු අන් ගණාවාස අතර බෙදාහැරීම සඳහාය. මෙවැනි සරල වරණයකින් (තෝරා ගැනීමකින්) බිඟු පාලකයා සතු අන් ගණාවාස වලින් නිෂ්පාදන විභවය වැඩි දියුණු කරගත හැක.

ඕනෑම රැජින රහිත කට්ටියක් හෝ ගණාවාසයක් පිටතින් ලැබෙන රැජින කෝෂයක් භාරගනී. එනිසා රැජින කෝෂ අනෙක් රැජින-රහිත ගණාවාසයන්ට පහසුවෙන්ම මාරුකළ හැක. බිඟු උයනක ඇති අන් ගණාවාසයන්ද රංචු බෙදී යෑමේ ලක්‍ෂණ පෙන්නුම් කරයි නම්, ඒවාද කට්ටි බෙදීම සඳහා සුදුසු අවධියක ඇත. කට්ටි බෙදීම අවුරුද්දේ ඕනෑම අවස්ථාවකදී සිදුකළ හැක. නමුත් අපගේ අභිප්‍රාය විය යුත්තේ ස්වාභාවිකව ඇතිවන සංසිද්ධියක් සමගින් හවුල් වී එය අපගේ වාසියට හරවා ගැනීමය. එනිසා අවශ්‍යයෙන්ම එය කළ යුත්තේ අවට පරිසරයෙන් ඒ සඳහා අවශ්‍ය උත්තේජය ලැබී ඇති විට පමණි. එසේම අප විසින් සිහිතබා ගත යුතු තවත් කරුණක් නම්, ගණාවාසයක සිටිනා රැජිනියගේ වයස කුමක් වුවත් පැණිවාරයක් ආරම්භයේදී බිඟුන් රංචු බෙදීයාමට සැරසෙන බවයි.

රංචු බෙදීයාමට සැරසෙන අන් ගණාවාස වලට රැජින කෝෂ සැපයීම කළ යුත්තේ පහත සඳහන් අන්දමටය. මේරූ රැජින කෝෂයක්, රැජින රහිත කට්ටියකට එය කට්ටි බෙදා මිනිත්තු 15 කින් පමණ ලබාදිය හැක. දායක ගණාවාසයෙන් රැජින කෝෂය ප්‍රවේසමෙන් ඉවත් කළ යුත්තේ රැජින කෝෂය හා සම්බන්ධ වී ඇති, එය වටා තිබූ ඉහද වදයේ කොටසක් හා සමගින්ය (6.14 හා 6.15 රූප). ප්‍රතිග්‍රාහක ගණාවාසයේ ඉහද කැදැල්ලේ මැද, ඉහද වද දෙපසට තල්ලු කිරීමෙන්, මේ අවස්ථාවේ දබර ඇඟිල්ලෙනුත් මහපට ඇඟිල්ලෙනුත් රැඳවාගෙන ඇති රැජින කෝෂය සහිත වද කැබැල්ල, ප්‍රතිග්‍රාහක වද දෙක අතරට ඇතුළු කරනු ලැබේ (6.16 රූපය). වද දෙක අතරට ඇතුළු කළ රැජින කෝෂය, එම වද දෙකේ ඉහද ඇති ප්‍රදේශය මට්ටමට ගෙනවුත් වද දෙක නැවතත් ඉතා ප්‍රවේශමෙන් කිට්ටු කරනු ලැබේ. ප්‍රවේශමෙන් වද දෙක නැවත ළං කිරීමේදී රැජින කෝෂයට සම්බන්ධ වූ වද කැබැල්ල නිසා එය ළංවන වද දෙක අතර හිරවේ. මෙසේ රැජින කෝෂ සහිත වද කැබල්ල ප්‍රතිග්‍රාහක වද දෙක මගින්, පහළට ලිස්සා නොයනසේ රැඳවීම සඳහා කරණ තෙරපීම කිසිසේත් රැජින කෝෂයට බලපෑ යුතු නොවේ. ඇත්ත වශයෙන්ම රැජින කෝෂය ප්‍රතිග්‍රාහක වද වල නොගෑවිය යුතුය. රැජින කෝෂය නිසිසේ ප්‍රතිග්‍රාහක වද අතර රැඳවූ පසු එහි බිඟුන් එය වැඩිදුරටත් රක්කාවමින් ආරක්‍ෂා කරනවා ඇත. එසේම එය සම්බන්ධවී ඇති වද කැබැල්ලෙන් වඩාත් හොඳින් ප්‍රතිග්‍රාහක වදවලට සම්බන්ධ කෙරේ. රැජින කෝෂය දායක වදයෙන් ඉවත් කිරීමට පටන්ගත් වේලේ සිට ප්‍රතිග්‍රාහක ගණාවාසයේ තැන්පත් කරන තෙක් ඉතාමත් ප්‍රවේශමෙන් කටයුතු කළ යුතු අතර, කෝෂය තුළ සිටිනා මෘදු පිලවාට අනතුරක් විය හැකි ගැස්සීම්, තෙරපීම්, වැටීම් ආදී කිසිවක් නොවනසේ මෙම මාරු කිරීමේ කාර්යය කළ යුතුය.



**6.13 රූපය**: මේරූ රැජින කෝෂ සහිත වදයක්.



**6.14 රූපය**: මේරූ රැජින කෝෂයක් කපා ඉවත් කර ගැනීමට පෙර.



**6.15 රූපය**: රැජින කෝෂයක් එයට සම්බන්ධ වදයේ කොටසක් සමඟින් කපා ඉවතට ගැනීම. මෙහිදී රැජින කෝෂයට කිසිදු ආපදාවක් නොකිරීමට තරයේ වග බලාගත යුතුය.



**6.16 රූපය**: *මිනිත්තු 15 කට පමණ පෙර බෙදන ලද රැජින රහිත කට්ටියේ වද දෙකක් අතරට රැජින කෝෂය ඇතුළු කිරීම.*



**6.17 රූපය**: *උඩ පටිය මදක් පසකට තල්ලු කිරීමෙන් ලබා ගත් පරතරය තුළින් වද දෙකක් අතරට සැපයූ රැජින කෝෂය බිහුන් සාර්ථකව භාරගත් බව පසඳින නිරීක්ෂණය කිරීම. බිහුන් රැජින කෝෂය වදයට සම්බන්ධ කර ඇත.*



**6.18 රූපය**: *බිහුන් විසින් මනාව වදයට සම්බන්ධ කළ රැජින කෝෂයක්. මෙහිදී එය පැහැදිලිව බලාගැනීම සඳහා රැජින කෝෂය මතින් බිහුන් ඉවත් කර ඇත. නමුත් සාමාන්‍යයෙන් බිහුන් බොහෝ දෙනෙකු රැජින කෝෂය වසාගෙන සිටී.*

යමෙක්හට රැජින කෝෂය වෙනත් ගණාවාසයකට සැපයීමේ සාර්ථකත්වය පිළිබඳ සැකයක් ඇතිනම්, එය සැපයූ දිනට පසු දින පරීක්‍ෂා කළ යුතුය. මේ සඳහා ප්‍රථමයෙන්ම රැජින කෝෂය රැඳවූ වද දෙක දෙපැත්තෙන් එක් පැත්තක හිස් ඉඩක් ඇති කර ගත යුතුය. ඉන් පසුව උඩින් දුම් ස්වල්පයක් ගසා, රැජින කෝෂය රඳවා ඇති වද දෙක අතර ඇති පරතරය තුළින් දෙකොනින්ම ඇඟිලි දෙකක් ඇතුළු කළ යුතු ය (6.17 රූපය). මේ නිසා වද දෙක දෙපසට යන අතර, වද දෙකට සම්බන්ධ වී ඇති රැජින කෝෂය එක් වදයකින් ගැලවුවත් අනෙක් වදයට ඇති සම්බන්ධය එසේම පවතී (6.18 රූපය). මෙය රැජින කෝෂය නිරීක්‍ෂණය කළ හැකි ඉතාමත් පහසු ක්‍රමය වන අතර, රැජින කෝෂය ප්‍රතිග්‍රාහක ගණාවාසයේ බිඟුන් විසින් බාර ගනු ලැබුයේ නම්, එහි බිඟුන් එය රකිනා ආකාරය පහසුවෙන්ම දැනගත හැකිය. බිඟුන් එය රකින්නේ නම් වද ප්‍රවේශමෙන් නැවත සකසා, එය එසේ තිබීමට ඉඩ හරින්න. බිඟුන් එය ප්‍රතික්ෂේප කර ඇතිවිට, ඔවුන් විසින් එය කඩා බිඳ දමා ඇති අයුරු පැහැදිලිව දක්නට ලැබේ. බිඟුන් රැජින කෝෂයක් රැක්කවීමට ප්‍රතික්ෂේප කරන්නේ එය තුළ ඇති පිලවා යම්කිසි අනතුරයකට පත් වී ඇති විට පමණි. එනිසා රැජින කෝෂය මාරු කිරීමේදී ඉතාමත් ප්‍රවේසම් විය යුතුය.

⑨ කුඩා, රැජින-රහිත ගණාවාසයක් හෝ **පට්ටි ගණාවාසයන්** හට සැලකිල්ලෙන් සප්පායම් කළ යුතුව ඇත. එයට අතිරේක ආහාර සැපයිය යුත්තේ කට්ටි බෙදූ දිනට පසු දිනය (6.19 රූපය). තවත් හොඳින් සිතේ තබාගත යුතු කරුණක් නම් කුඩා ගණාවාස අවට ඇති විශාල ගණාවාසයන්ගේ සිටිනා බිඟුන් විසින් දුර්වල ගණාවාසයේ ඇති පැණි ගබඩා සොරා ගෙන යෑමේ තර්ජනයයි. කුඩා ගණාවාසයන් අවට, විශාල ගණාවාසයන් ඇතිවිට ඒවායේ ඇති විශාල වූ ගහනයන් මගින් කුඩා ගහනයන් පහසුවෙන්ම යටපත් කරගෙන සොරා කයි. මේ හේතුව නිසා කුඩා ගණාවාසවලට ආහාර සැපයිය යුත්තේ අඳුරු වැටීමට ආසන්නයේය. එසේම කුඩා ගණාවාසයකට සපයන ආහාර ප්‍රමාණයද එක් රැයක් තුළදීම සම්පූර්ණයෙන්ම පරිභෝජනය කිරීමට හැකි ප්‍රමාණයක් විය යුතුය. සාමාන්‍යයෙන් කුඩා ගණාවාසයකට වරකට මිලි ලීටර් 200 ක් පමණ ආහාර වේලක් ප්‍රමාණවත් වේ. කුඩා ගණාවාස සඳහා සුළු ආහාර ප්‍රමාණයක් කෙටි කාලාන්තරයක් ඇතුලත කීපවිටක් සැපයීම, වැඩි ආහාර ප්‍රමාණයක් දීර්ඝ කාලාන්තරයකින් සැපයීමට වඩා යෝග්‍යවේ. කුඩා ගණාවාස පාලනයේදී සල බිත්තියේ භාවිතය බොහෝ ප්‍රයෝජන ගෙනදේ (6.19 රූපය).

රැජින රහිත කුඩා ගණාවාස පැණි නිෂ්පාදන කෙරෙනා භූමිභාගයේ තබා ඇතිනම් සහ ගණාවාස කට්ටි බෙදීම පැණි වාරය තුළදීම සිදු කළේ නම් අතිරේක ආහාර සැපයීම අනවශ්‍ය වේ.

තුදුරු අනාගතයේදී නව රැජිනියන් තනා ගැනීම සඳහා රැජින කෝෂ සපයා ඇති රැජින රහිත ගණාවාස පට්ටි ගණාවාස යනුවෙන්ද හඳුන්වනු ලැබේ. එනම් නව රැජිනක් බිහිවී ඇය සංසේචනය වන තෙක් (පට්ටි වැටෙන තෙක්) සිටිනා ගණාවාසය වේ.

⑩ කට්ටි බෙදා දින කිහිපයකින් අලුත බිහිවූ නැහැඹු රැජින දැක ගත හැකිය. හොඳින් මේරූ රැජින කෝෂයක් එම ගණාවාසයට සැපයුවේ නම් එයින් දින දෙකක් ඇතුළත රැජින බිහිවනු ඇත. එනිසා තුන්වන හෝ හතරවන දිනයේදී ගණාවාසය පරීක්‍ෂා කළහොත් නැහැඹු රැජින දැක ගත හැක. සාමාන්‍යයෙන් බිහිවී සතියක් ඇතුළතදී ඇය සංසර්ගයේ යෙදිය (පට්ටි වැටිය) යුතුය. මෙම පට්ටි ගණාවාස සඳහා විශේෂයෙන්ම මේරූ කීටයන් හා පිලවුන් වැඩි වශයෙන් ඇති ඉහඳ වද සැපයීම වැදගත්වේ. පිටතින් ඉහඳ වද සැපයීම කට්ටි බෙදා දින 10 කදී පමණ කළ යුතුය. නව රැජිනිය පට්ටි වැටී බිත්තර දැමීම ආරම්භ කරන තෙක් ගණාවාසයක ඉහඳන් සිටීම ඉතා වැදගත්ය (7 වන පරිච්ඡේදය බලන්න). ගණාවාසයේ ඉහඳන් තිබීම එය ස්ථාවර බවට පත් කිරීමටත් හැරයාම වැනි උවදුරු වළක්වා ගැනීමටත් ඇති හොඳම මාර්ගය වේ.

**(143 වැනි පිටුවේ පසු ටීකාව බලන්න)**

6.20 වැනි රූපයෙන් ගණාවාස කට්ටි බෙදීමේදී ඉවහල් වන අවස්ථා සංක්ෂිප්තව දක්වා ඇත.

## 6.4. පැණි නිෂ්පාදන ගණාවාසයේ ප්‍රජනක ප්‍රධානියා විය යුත්තේ සිටිනා රැජිනියද, නව රැජිනියක්ද ?

රංචු බෙදියන විවිදි ගණාවාසයක සිටිනා රැජිනිය එහි සිටිනා බිඟු ගහනයෙන් කොටසක් සමගින් අලුත් කැදලි ස්ථානයක් සොයා පිටවී යයි. මෙවිට මුල් ගණාවාසයේ ප්‍රජනක ප්‍රධානියා වශයෙන් එහි ක්‍රියාකාරකම් ඉටුකිරීමට එහි මෝරමින් තිබෙන රැජින කෝෂයකින් පිටවන නව රැජිනක් විසින් භාරගනු ලැබේ. රැජින කෝෂ නිෂ්පාදනය, රංචු බෙදියාමට ප්‍රථමයෙන් සිදුවිය යුතුය. එමනිසා ස්වාභාවිකව සිදුවන රංචු බෙදී යාමේදී පවත්නා ගණාවාසයට රංචු බෙදී යන සෑම අවස්ථාවකදීම නව රැජිනක් ලැබේ. කෙසේ වෙතත්, ස්වාභාවිකව රංචු බෙදී යාමේදී පිටවී යන රැජිනිය සමගින් ගණාවාසයේ ගහනයෙන් 25%-75% දක්වා ප්‍රමාණයක් පිට වී යයි.

එමෙන්ම, පැණි වාරයට ප්‍රථමයෙන් හෝ පැණිවාරය තුළදී ඇති කළ නව රැජිනිය, ඇගේ තරුණභාවය නිසා සිටිනා රැජිනියට වඩා හොඳින් ක්‍රියාකාරී වනවා ඇතැයි බොහෝ විට උපකල්පනය කරමු. මේ හේතුකොට ගෙන පැණි නිෂ්පාදන ගණාවාසයේ සිටිනා රැජින කුඩා කට්ටියක් සමගින් කට්ටි බෙදී මෙදී ඉවත් කරනු ලබන අතර පැණි නිෂ්පාදන කට්ටියේ අලුත් රැජිනක් බිහිවීමට ඉඩ සලසයි. සමහර විටක මෙම ක්‍රමයට සමාන යැයි සිතිය හැකි රැජින අනුප්‍රාප්තනය[3] නම් ක්‍රියාපටිපාටියක් බටහිර මී බිඟු **(ඒපිස් මෙලිෆෙරා)** පාලකයින් භාවිතා කරයි. මෙම ක්‍රමය අදාල වන්නේ විශේෂයෙන්ම දියුණු වූ පැණි නිෂ්පාදන කර්මාන්තයක් ඇති රටවලය. කෙසේ නමුත් අප ශ්‍රී ලංකාවේ පවතින වර්තමාන තත්වය යටතේ පහත දැක්වෙන කාරණා හේතුවෙන් වඩා සුදුසු ක්‍රමය වන්නේ වැඩිමහල් රැජිනිය පැණි නිෂ්පාදන ගණාවාසයේ රඳවා ගැනීමත්, රංචු බෙදියාම පාලනය කරනවාත් සමගින් ඇතිවන අලුත් රැජිනක් ඊළඟ වාරයේ පැණි නිෂ්පාදන ගණාවාස සඳහා තබා ගැනීමත්ය.

① පැණිවාරය පැමිණීමත් සමගින් සිදුවන වේගවත් වර්ධනය නිසා ඉහඳ පෙට්ටියේ අධික තදබදයක් ඇතිවේ. මෙම වේගවත් වර්ධන කාලසීමාව තුළදී අලුතින් බැදීමට පටන් ගන්නා වදයක් සාමාන්‍යයෙන් දින 7 ත් 10 ත්, ඇතුලත හෝ ඊට වඩා අඩු කාලයකදී සම්පූර්ණ ප්‍රමාණයට ගෙන එන අතර රැජිනියගේ බිජ්ලෑමේ සීඝ්‍රතාවද දිනකට බිජ් 600 පමණ දක්වා ඉහළ යයි. මෙම ක්‍රියාදාමයන්ගේ ප්‍රතිඵලයක් වශයෙන් රංචුබෙදියාම වැළැක්විය නොහැකි තත්වයකට පත්වේ. එනිසා මෙම ස්වාභාවික ක්‍රියාවලියන් අනුගමනය කිරීමෙන් අලුත් රැජිනන් නිෂ්පාදනය කරණ අතර පැණි නිෂ්පාදනය සඳහා අවශ්‍ය ක්‍රියාකාරී අන්වේෂක ගහනය එලෙසම නඩත්තු කළ හැක.

② පැණිවාරය තුළදී විශාල ගණාවාසයන් හි සිටිනා අලුත් රැජිනන් පට්ටි වැටී බිත්තර දැමීම සඳහා ඉතා දීර්ඝ කාලයක් ගනී. සමහරවිටක මෙම කාලය සති 6 ක් පමණ දීර්ඝ විය හැක. එපමණක් නොව, විශාල ගණාවාසයන්හි සිටිනා අලුත් රැජිනන් බොහෝ විට බිජ්ලෑම ආරම්භ නොකරම රංචුබෙදී පිටවී යයි. මේ හේතුවෙන් ඉතිරිවන ගණාවාසය බිජලන සේවිකාවන් ඇතිවන සාවද්‍ය තත්වයට පත්වේ.

③ හොඳින් බිජලන, ක්‍රියාකාරී රැජිනක් නොමැති ගණාවාසයක සිටිනා අන්වේෂක බිඟුන් කාර්යසාධක ලෙස පැණි සෑදීම සඳහා මධු රැස් නොකරයි. මේ හේතුව නිසා, බිඟුපාලකයා අලුත් රැජිනක් ඇතිකළ ගණාවාසයකින් පැණි නිපදවීමට බලාපොරොත්තු වන්නේ නම්, එම රැජින බිජ් ලෑමට දීර්ඝ කාලයක් ගත වුවහොත් ලැබෙන ප්‍රතිඵල අසතුට දායක විය හැක.

---

[3] රැජින අනුප්‍රාප්තනය (Re-queening) යෙහි පදනම් ක්‍රමය බටහිර මී බිඟු පාලනය කිරීමේදී අදාල ක්‍රමයට වඩා බොහෝ වෙනස්වේ. රැජින අනුප්‍රාප්තනයේදී, බිඟුපාලකයෙක් තම ගණාවාසයන්හි සිටිනා පරණ රැජින වෙනුවට පැණි වාරය මුලදීම, පට්ටි වැටුනු රැජිනක් වානිජමය වශයෙන් බිඟුන් බෝකරන්නෙකුගෙන් (හෝ බිඟු අභිජනනය කරන අයෙකුගෙන්) මිලදී ගත් රැජිනක් ලබාදෙ. මෙම රටවල්වල බොහෝ විටක අභිජනනය කර පට්ටි වැටුණු රැජිනක් කුඩා තුඩුඵක සේවිකාවන් කිහිපදෙනෙකු සමගින් තැපැල් මගින් ගෙන්වා ගත හැකිය. 4.9 කොටසේ රැජින අනුප්‍රාප්තනය සඳහා නිපදවා වැඩි දියුණු කර ඇති වැදගත් තාක්ෂණික ක්‍රම කිපයක් සඳහන් කර ඇත. නමුත් මේවා අප රටේ වර්තමානයේ දී යෝග්‍ය නොවේ. අප රටේ වඩාත් සුදුසු ක්‍රමය නම් පැණි වාරය මුලදී අලුත් රැජිනියන් සහිත ගණාවාස කිපයක් ඇතිකර ගැනීමත් සහ මුල් ගණාවාසයේ ක්‍රියාකාරී රැජින සහිත ගහනය පැණි නිෂ්පාදනය සඳහා ඉහළ මට්ටමක තබා ගැනීමත් ය

මේ කාරණා අනුව බිහුපාලකයා විසින් වටහාගත යුතු වැදගත් කාරණයක් නම් පැණි නිෂ්පාදන ගණාවාසයේ සිටිය යුත්තේ හොඳින් බිජලන රැජිනක් බවත් ඇයගේ වයස වැදගත් නොවන බවත් ය.

කෙසේ වෙතත් බිහුපාලකයා, රංචු බෙදියාම පාලනය කිරීමට කට්ටි බෙදීමෙන් පසුව වුවද තම ගණාවාසයන්හි ඉහඳ පෙට්ටිවල (හෝ කැදලිවල) කිසිවිටකත් තදබදයක් ඇති නොවීමට වගබලාගත යුතුව ඇත. මෙනිසා අලුත් වද බැඳීම සඳහා අවම වශයෙන් වද පරතර දෙකක් වත් පැණි වාරය තුළදී ඕනෑම අවස්ථාවක ඉහඳ කැදැල්ලේ තිබිය යුතුයි (5.34 රූපය බලන්න, පිටුව 112). මේ සඳහා ඉහඳ කැදැල්ලේ ඇති පියැසූ ඉහඳ සහිත වද බිහුන් රහිතව වරින්වර ඉවත් කිරීමෙන් තදබදයක් ඇති නොවීමට ඉඩ සැලසෙන අතර, මෙසේ ක්‍රමයෙන් ඉවත් කරණා ඉහඳ වද පළමු පැණි පෙට්ටියට සැපයීම (5.3.3. කොටස බලන්න) හෝ නවරැජිනක් සහිත අලුත් ගණාවාස ස්ථාවරභාවයට ගෙන ඒමට භාවිතා කළ හැක (6.20 රූපය බලන්න).

## 6.5. නිෂ්පාදන ගණාවාසයන්හි රැජිනියගේ වයස

සාමාන්‍යයෙන් රැජිනියකගේ හොඳ ක්‍රියාකාරී කාලසීමාව අවුරුදු 2 ක් 4 ක් අතර වේ. මේ නිසා පැණි නිෂ්පාදන ගණාවාසයන්හි සිටිනා පරණ රැජින සුදුසු අවස්ථාවන්හිදී මනාසේ කට්ටිබෙදීමෙන් පැණිවාර කිහිපයක් සඳහා භාවිතා කළ හැක. කෙසේ වෙනත් පළමු පැණිවාරයෙන් පසු රැජින නියම ආකාරයට බිජු ලෑමට අසමත් විය හැකි යයි උපකල්පනය කිරීමත්, මේ හේතුව නිසා සෑම පැණිවාරයක් සඳහාම ඊට ඉහත පැණි වාරයක් තුළදී නිෂ්පාදනය කළ අලුත් රැජිනියන් සහිත දුහිතෘ ගණාවාස භාවිතා කිරීම වඩාත් නුවණට හුරුය.

යම් අවස්ථාවක තමා පාලනය කරන ගණාවාස අතුරෙන් එකක් හෝ ගණාවාස කීපයක් ඉතාමත් හොඳ අස්වැන්නක් ලබා දුන්නේ නම් එවැනි ගණාවාස භාවිතා කරමින් මී ළඟ පැණි වාරයේදී නවත් දුහිතෘ ගණාවාස සැදිය යුතු අතර, ඒවායේ වැඩිපුර ඇතිවන රැජින කෝෂ අනෙක් ගණාවාස කට්ටි බෙදීමෙන් ඇතිවන රැජින-රහිත කට්ටි සඳහා ලබා දීමෙන් බිහු පාලකයෙකු සතු ගණාවාසයන්ගේ නිෂ්පාදන විභවය සුළු කාලයකදී වැඩි කරගත හැක.

## 6.6. බිජුලන සේවිකාවන් : නව ගණාවාස නිෂ්පාදනයේදී ඇතිවන සාවද්‍ය තත්වයක් හා ගැටළුවක්

සමහර අවස්ථාවන්හිදී නව රැජිනක් බිජුලෑම ආරම්භ නොකර රංචුබෙදී යෑමෙන් ඇයගේ මුල් ගණාවාසය නවත් රැජින කෝෂයක් ඇති කර ගැනීමට අපොහොසත්වූ අවස්ථාවලදී ගණාවාසයක රැජින රහිත තත්වයක් ඇතිවේ. බිහුන් රැජින කීටයෙක් නිපදවා ගැනීමට අසමත් වූ අවස්ථාවන්හිදී සමහරක් සේවක බිහුන්ගේ ඩිම්බ කෝෂ වර්ධනය වීමට පටන් ගනී (1.5.2.1. කොටස බලන්න). රැජින කීටයෙක් සිටීමද (රැජින කෝෂ තිබීමද) සේවිකාවන්ගේ ඩිම්බ කෝෂ වර්ධනය වළක්වයි. ඩිම්බ කෝෂ වර්ධනය වූ සේවිකාවන් රැජිනියගේ කාර්යභාරය භාරගන්නාක් මෙන් බිජුලෑම ආරම්භ කරයි. මෙම ව්‍යාජ රැජිනන් වූ සේවිකාවන්ගේ බිජුලෑම පහසුවෙන්ම හඳුනාගත හැක්කේ ඔවුන් එක් කුටීරයක බිජු විශාල සංඛ්‍යාවක් දමන බැවිනි (6.21 රූපය). මෙම බිජු සංසේචනය නොවූ ඩිම්බ වලින් හට ගන්නා නිසා ඒවායින් ඇති වන්නේ පුබරුන් පමණි. එනිසා මෙවැනි සාවද්‍ය තත්වයක් ඇතිවූ ගණාවාසයන් බිජුලන සේවිකා ගණාවාසයන් හෝ පුබර බිජුලන ගණාවාසයන් වශයෙන්ද හැඳින්වේ. මෙම සාවද්‍ය ගණාවාසයන්හි බිහුන් (සේවිකාවන්) ඇති නොවන නිසා අවසානයේදී ඒවා විනාශ වී යයි.

සාමාන්‍ය බිහුපාලන තත්වයන් යටතේ මෙවැනි සාවද්‍ය තත්වයන් ඇති වූයේ නම් එය නිරවද්‍ය කිරීමට කළ හැකි දෙයක් නොමැති නිසා වඩාත් උචිත ක්‍රියාමාර්ගය වන්නේ මෙවැනි ගණාවාස රැජින සහිත ගණාවාසයක් සමග 5.3.3.9. කොටසේ සඳහන් වූ පරිදි පූට්ටු කිරීම ය. එය වඩාත් පහසුවූත් ලාභදායීවූත් ක්‍රියා මාර්ගයකි. බිජුලන සේවක ගණාවාසයකට රැජිනක් ලබාදීමේ හැකියාවක් ඇතිනම් ඇය එයට හඳුන්වා දිය යුත්තේ 7.4.2. කොටසේ සඳහන් කර ඇති පරිදි රැජින කූඩුවක් භාවිතා කිරීමෙනි.

1 2 3 4

**6.20 රූපය**: *රංචු බෙදී යෑම පාලනය කිරීම හා නව ජනාවාස නිපදවීම සඳහා ජනාවාසයක් කට්ටි බෙදීමේදී අනුගමනය කරණ ක්‍රියා පිළිවෙළෙහි සාරාංශය.*

*1 වන අවස්ථාව*: *ඉහළ වද 8 කින් හා පැණි පෙට්ටි 2 ක් සමගින් බිජුන්ගෙන් සම්පූර්ණ ජනාවාසයක් රංචු බෙදීම සඳහා පැණිවාරය මුලදී රැජින කෝෂ නිපදවා ඇත.*

*2 වන අවස්ථාව*: ***කට්ටි බෙදීම***. *සිටිනා රැජිනියට රැජිනකෝෂ නොමැති ඉහළ වද 3ක්ත් හා සියලුම පැණි පෙට්ටින් සපයා එය පැණි නිෂ්පාදන ජනාවාසය ලෙස තබාගනී. රැජින කෝෂ සහිත ඉහළ වද 5ක් ඉවත් කර ඒවායින් ඉහළවද 2 කින් හා 3 කින් යුත් රැජින රහිත ජනාවාස පිළියෙළ කරයි.*

*3 වන අවස්ථාව*: *දින 10 කින් පමණ පසු රැජින සහිත පැණි නිෂ්පාදන ජනාවාසය නවත් වද නිපදවා ඇත.*

*4 වන අවස්ථාව*: *පැණි නිෂ්පාදන ජනාවාසයෙන් තවත් හොඳ ඉහළ වද දෙකක් බිජුන් රහිතව ඉවත් කර ඒවා අලුත් රැජින ඇති ජනාවාසයන් වෙත සපයයි. එවිට කුඩා ජනාවාස ස්ථාවරභාවයට පත්වීමත්, රැජින ඉක්මණින් බිජුලෑමටත් පටන් ගනී.*





**6.19 රූපය**: කුඩා ගණාවාසයක් හෝ පට්ටි ගණාවාසයක් පාලනය කිරීම. අතිරේක ආහාර සපයන බෙලෙක්කය හා කුඩා කැදැල්ල ධාරණය කිරීමට යොදා ඇති සල බිත්තියේ භාවිතය.



**6.21 රූපය**: බිජලන සේවිකාවන් විසින් එක කුටීරයක දී බිජ විශාල සංඛ්‍යාවකින් යුත් වදයක කොටසක්. රැජින ද්‍රව්‍ය සැපයුමේ ඌනතාවයක් නිසා සේවිකාවන්ගේ ඩිම්බ කෝෂ වර්ධනයෙන් පසුව බිජලන අවධියකට පත්වේ. වැඩි විස්තර සඳහා *1.5.2.* කොටස හා *6.6.* කොටස බලන්න.

